# ඉස්ලාම් පිළිබඳව කෙටි අවබෝධයකට රූපිත මඟපෙන්වීමක්



මෙම ග්‍රන්ථයේ ඉංග්‍රීසි පරිවර්තනය අන්තර්ජාලයෙන් කියවීම සඳහාත්,
ඉස්ලාමය පිළිබඳව වැඩි විස්තර සඳහාත්, එහි මුද්‍රිත පිටපත් සඳහාත්
පිවිසෙන්න.
www.islam-guide.com

සිංහල පරිවර්තනය පිළිබඳව විමසීම සඳහා ezahidh@yahoo.com හෝ
ezakiyah@gmail.com සම්බන්ද කර ගන්න

ඉදිරිපස පිට කවරය
මුළු ලෝකයේ සිටින මිලියනකටත් අධික මුස්ලිම් ජනතාව එකට එක් වී මක්කම
පිහිටි මස්ජිදුල් හරම් හි දේව නැමදුමෙහි නිරත වීම

පිටුපස පිට කවරය
මදීනාවේ පිහිටි වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ගේ දේවස්ථානය

بسم الله الرحمن الرحيم

පරම දයාබර, අසමසම කරුණාවන්ත දෙවියන්වහන්සේගේ නාමයෙන් ආරම්භ කරමි.

# ඉස්ලාම් පිළිබඳව කෙටි අවබෝධයකට රූපිත මඟපෙන්වීමක්

**දෙවන සංස්කරණය**

I A **ඉබ්රාහීම්**

ප්‍රධාන සංස්කරණය

Dr. William (Daoud) Peachy

Michael (Abdul-Hakim) Thomas

Tony (Abu-Khaliyl) Sylvester

Idris Palmer

Jamaal Zarabozo

Ali AlTimimi

විද්‍යා සංස්කරණය

Professor Harold Stewart Kuofi

Professor F. A. State

Professor Mahjoub O. Taha

Professor Ahmad Allam

Professor Salman Sultan

Associate Professor H. O. Sindi



## ප්‍රකාශන අයිතිය



**නැවත මුද්‍රණය සඳහා**

මෙම ග්‍රන්ථය නැවත මුද්‍රණය හා නැවත ප්‍රතිනිෂ්පාදනය සඳහා කිසිදු වෙනසක් හා සංකලනය කිරීමක් නොකොට කළ හැක. තතත්වයෙන් උසස් මුද්‍රණය සඳහා නොමිලේ පරිගණක පිටපත ලබාගැනීමට ezahidh@yahoo.com හෝ ezakiyah@gmail.com සම්බන්ද කර ගන්න.

**මෙම ග්‍රන්ථයේ වෙබ් අඩවිය**

මෙම ග්‍රන්ථයේ ඉංග්‍රීසි පරිවර්තනය හා ඉස්ලාමය පිළිබඳ වැඩි විස්තර සඳහා පිවිසෙන්න. www.islam-guide.com

දෙවන සංස්කරණය
Library of Congress Catalog Card Number: 97-67654
ISBN: 9960-34-011-2

**සිංහල පරිවර්තනය**
**එම්. එම්. එෆ්. මුස්මිරා**
B.Sc Special (Hons)

**අමතර පරිවර්තන සහ පිටු සැකසුම**
**එෆ්. zසකියා පෙරේරා**

Conveying Islamic Message Society
P.O.Box 834-Alex-Egypt
www.islamic-message.net
info_en@islamic-message.net

# පටුන

03 පරිච්ඡේදය
**ඉස්ලාමය පිළිබඳ සාමාන්‍ය තොරතුරු** 45

# පෙරවදන

මෙම ග්‍රන්ථය ඉස්ලාම් දහම සඳහා කෙටි මඟපෙන්වීමකි. මෙය පරිච්ඡේද තුනකින් සමන්විත වෙයි. මෙහි පළමු පරිච්ඡේදය වන "ඉස්ලාමයේ සත්‍යතාවය සඳහා සාධක කිහිපයක්" මඟින් සමහර පුද්ගලයන් අසනු ලබන වැදගත් ප්‍රශ්ණ කිහිපයකට පිළිතුරු සපයයි.

* කුර්ආනය යනු ඇත්ත වශයෙන්ම දෙවියන්වහන්සේ විසින් පහළ කරන ලද දෙවියන්වහන්සේගේම වදන්ද?
* මුහම්මද් ﷺ[1] තුමා ඇත්තෙන්ම දෙවියන්වහන්සේ විසින් එවන ලද වක්තෘවරයෙක්ද?
* ඉස්ලාමය යනු ඇත්ත වශයෙන්ම දෙවියන්වහන්සේ විසින් පහළ කළ දහමක්ද?

මෙම පරිච්ඡේදයෙහි හය ආකාරයක සාක්ෂි ඉදිරිපත්කොට ඇත.



1 ශුද්ධ වූ අල් කුර්ආනයෙහි සඳහන් විද්‍යාත්මක ප්‍රාතිහාරයයන්:

මෙහිදී (රූප සටහන් සහිතව) සාකච්ඡා කෙරෙනුයේ මෑත කාලයේදී සොයාගන්නා ලද විද්‍යාත්මක තොරතුරු කිහිපයක් පිළිබඳව අල් කුර්ආනයෙහි සඳහන් කොට ඇති දෑය. මෙම විද්‍යාත්මක තොරතුරු දැනට ශතවර්ෂ දහහතරකට පෙරදීම අල් කුර්ආනය මඟින් අනාවරණය කොට තිබුණි.

2 ශුද්ධ වූ අල් කුර්ආනයෙහි අඩංගු පරිච්ඡේදයන්ට සමාන වන එක් පරිච්ඡේදයක් නිර්මාණය කිරීම සඳහා පවතින විශාල අභියෝගය.

අල් කුර්ආනයේ පවතින පරිච්ඡේදයන් වැනි වූ තවත් එක් පරිච්ඡේදයක් නිර්මාණය කරන ලෙස මිනිස්වර්ගයාට අල් කුර්ආනය තුලින් දෙවියන්වහන්සේ අභියෝග කර ඇත. අල් කුර්ආනය පහළවී දැනට ශතවර්ෂ දහහතරක් ගතවී තිබුණත් අල් කුර්ආනයේ පවතින වචන දහයකින් පමණක් සමන්විත වූ කෙටිම පරිච්ඡේදයවත් (108 වන පරිච්ඡේදය) නිර්මාණය කිරීමේ මෙම අභියෝගය ජය ගැනීමට මේ දක්වාම කිසිවෙකුත් සමත් වී නැත.

3 ඉස්ලාමයෙහි වක්තෘවරයා වන මුහම්මද් ﷺ තුමාණන්ගේ පහළවීම පිළිබඳව බයිබලයේ සඳහන් අනාවැකි.

මෙම කොටස මඟින් මුහම්මද් ﷺ තුමාණන්ගේ පහළවීම පිළිබඳව බයිබලයේ සඳහන් අනාවැකි සමහරක් සාකච්ඡා කෙරෙයි.

---

1. ﷺ නම් මෙම අරාබි වචන වල අර්ථය වන්නේ දෙවියන්වහන්සේ එතුමාගේ සඳහන් කිරීම ප්‍රසංශා සහ ආශිර්වාදය හිමිවෙත්වා යන්නයි.

4 අල් කුර්ආනයෙහි අනාගත සිදුවීම් පිළිබඳව සඳහන් කර ඇති වාක්‍යයන් පසුකාලීනව සැබෑවීම.
අල් කුර්ආනයෙහි, අනාගතයේදී සිදුවන සිදුවීම් ලෙස සඳහන් කොට තිබූ සමහර සිදුවීම් පසුකාලීනව සැබෑවිය. උදාහරණයක් ලෙස රෝමන්වරුන් විසින් පර්සියානුවන් පරදවා ජය ලැබීම දැක්විය හැක.

5 මුහම්මද් තුමා ﷺ විසින් පෙන්වන ලද ප්‍රාතිහාර්යයන්.
මුහම්මද් තුමා ﷺ විසින් බොහෝ ප්‍රාතිහාර්යයන් සිදුකොට ඇත. මෙම ප්‍රාතිහාර්යයන් බොහෝ පුද්ගලයින් දැක ඇත.

6 මුහම්මද් තුමාණන්ගේ ﷺ සරල දිවිපෙවත
මේ මඟින් මුහම්මද් තුමා ﷺ යනු භෞතික ලාභ ප්‍රයෝජන, උසස් භාවය හෝ බලය ලබාගැනීම පිණිස වක්තෘත්වය ලබා ගත් වක්තෘවරයෙකු නොවන බවට පැහැදිළිව පෙන්වයි.

ඉහත සඳහන් වන හය ආකාරයේම සාක්ෂි මඟින් අවසානයේදී ගත හැකි නිගමනය වන්නේ

* කුර්ආනය යනු දෙවියන්වහන්සේ විසින්ම පහළ කරන ලද, දෙවියන්වහන්සේගේම වදන් බවයි.
* මුහම්මද් තුමා ﷺ යනු දෙවියන්වහන්සේ විසින් එවන ලද සැබෑ වක්තෘවරයෙක් බවයි.
* ඉස්ලාමය යනු ඇත්ත වශයෙන්ම දෙවියන්වහන්සේ විසින් ලබාදුන් දහමක් බවයි.

අපට යම් කිසි ධර්මයක් සත්‍යද, අසත්‍යද යන්න දැන ගැනීමට අවශ්‍ය නම් අප විසින් අපගේ හැඟීම්වලට හෝ සම්ප්‍රදායන්ට වහල් නොවිය යුතුය. ඒ වෙනුවට අප කළ යුත්තේ අපගේ බුද්ධිය මඟින් විමසා බැලීමයි. දෙවියන්වහන්සේ විසින් වක්තෘවරුන් පහළ කරන විට, ඔවුනට ප්‍රාතිහාර්යයන් කිරීමේ හැකියාව ද ලබා දී එමඟින් ඔවුන් සත්‍යවශයෙන්ම දෙවියන්වහන්සේ විසින් එවනු ලැබූ වක්තෘවරුන් බවට හා ඔවුන් දේශනා කරන ලද ධර්මය සත්‍ය බවටත් ඔප්පු කරන ලදී.

දෙවන පරිච්ඡේදය වන "ඉස්ලාමයෙන් ලැබෙන ප්‍රතිලාභ සමහරක්" යන්න මඟින් මිනිසාට ඉස්ලාමයෙන් ලබාදෙන පහත අන්දමේ ප්‍රයෝජන පිළිබඳව දන්වා ඇත.

1. එය මඟින් සදාකාලික වූ ස්වර්ගය කරා ඇති දොරටුව විවර කරනු ලබයි.
2. නිරයේ ගින්නෙන් ආරක්ෂාව ලබාදෙයි.
3. සැබෑ සන්තෘෂ්ටිය හා අධ්‍යාත්මික සාමය ලඟා කරයි.
4. පෙර සිදුකරන ලද සියළු පව් වලට සමාව ලබාදෙයි.

තුන්වන පරිච්ඡේදය වන "ඉස්ලාමය පිළිබඳ සාමාන්‍ය තොරතුරු" යන මැයෙන් ඉස්ලාමය පිළිබඳව සාමාන්‍ය තොරතුරු ලබා දෙන අතරම එය පිළිබඳව ඇති සමහර වැරදි මතයන් නිවැරදි කරමින් නිතරම අසනු ලබන පහත ආකාරයේ ප්‍රශ්ණ කිහිපයකට පිළිතුරුද ලබා දෙයි.

* ඉස්ලාමය ත්‍රස්තවාදය පිළිබඳව පවසන්නේ කුමක්ද?
* ඉස්ලාමයෙහි කාන්තාවන්ට ලැබෙන අයිතිවාසිකම් මොනවාද?

## 1 පරිච්ඡේදය

# ඉස්ලාමයෙහි සත්‍යතාවය සඳහා සාදක කිහිපයක්

දෙවියන්වහන්සේ විසින්, අවසාන වක්තෘවරයා වූ මුහම්මද් ﷺ තුමාට, බොහෝ ප්‍රාතිහාරයයන් කිරීමේ හැකියාව සහ බොහෝ සාක්ෂි ලබා දෙමින් එතුමා සැබවින්ම දෙවියන්වහන්සේ විසින් එවනු ලැබූ වක්තෘවරයෙකු බව තහවුරු කොට ඇත. එසේම දෙවියන්වහන්සේ තමා විසින් අනාවරණය කරන ලද අවසානතම ග්‍රන්ථය වන ශුද්ධ වූ කුර්ආනයෙහි බොහෝ ප්‍රාතිහාර්යයන් අඩංගු කරමින් එය දෙවියන්වහන්සේගේම වදන් බවට සාධක සපයයි. කුර්ආනයෙහි කතෘවරයා මනුෂ්‍යයෙකු නොවන බවටද සාක්ෂි සපයයි. මෙම පරිච්ඡේදය මඟින් මෙවැනි සාධක කිහිපයක් පිළිබඳව සාකච්ඡා කෙරෙයි.

## (1) අල් කුර්ආනයේ සඳහන් විද්‍යාත්මක ප්‍රාතිහාර්යයන්

අල් කුර්ආනය යනු දෙවියන්වහන්සේගේ සත්‍ය වදන්ය. ජිබ්රීල් සුරදූතයා මඟින් මෙම වදන් වක්තෘ මුහම්මද් ﷺ තුමා හට අනාවරණය කරන ලදී. එය මුහම්මද් ﷺ තුමා විසින් වනපොත් කරගෙන, ඔහුගේ අනුගාමිකයින්ට එය ලියා ගැනීම පිණිස කියවන ලදී. ඔවුන් එය පිළිවෙළින් මතක තබා ගෙන විවිධ අන්දමින් සටහන් කර ගෙන, ඒවා මුහම්මද් ﷺ තුමා සමඟ සමාලෝචනය කර ඇත. එපමණක් නොව මෙම කුර්ආනය මුහම්මද් ﷺ තුමාද ජිබ්රීල් සුරදූතයා ඉදිරියේ සෑම වසරක් පාසාම පාරායනය කර ඇති අතර එතුමාගේ ජීවිතයේ අවසාන වසරේදී එය දෙවතාවක් පාරායනය කර නිවැරදිතාවය තහවුරු කරගෙන ඇත.


අල් කුර්ආනය

කුර්ආනය ලොවට පහළ වූ දා සිට මේ වන තුරු එහි සෑම අකුරක් පාසාම කට පාඩම් කරගත් මුස්ලිම්වරුන් විශාල සංඛ්‍යාවක් මෙලොව තුළ සිටී. ඒ අතරේ වයස අවුරුදු දහයක් තරම් කුඩා දරුවන් පවා සිටී. එලෙස ශතවර්ෂ ගණනාවක් පසු කළත් අල් කුර්ආනය එකම අකුරක්වත් නොවැරදී, නොවෙනස්ව ඒ අයුරින්ම පවතී.

දැනට සියවස් දහ හතරකට පෙර අනාවරණය කළ කුර්ආනයේ සඳහන් සමහර තොරතුරු විද්‍යාඥයන් විසින් සොයාගෙන ඇත්තේ ඉතාමත් මෑතකදිය. මේ සොයාගැනීම් මඟින් විද්‍යාමාන වන්නේ කුර්ආනය යනු සත්‍යවශයෙන්ම දෙවියන්වහන්සේගේ වදන් බවත්, එය වක්තෘ මුහම්මද් ﷺ තුමා වෙතට පහළ කළ බවත් එවැනි ග්‍රන්ථයක් රචනා කිරීමට තරම් ඥාණයක් එතුමාට නොතිබුණ හෙයින් එහි කතෘ නොවන බවට ද එතුමා සත්‍යවශයෙන්ම දෙවියන්වහන්සේගේ පණිවිඩකරුවා විය යන්නට හොඳම සාක්ෂිය විය.

මින් ඔබ්බට සිතා බැලුවහොත් අද දින විද්‍යාත්මකව සොයාගත් ඇතැම් කරුණු ගවේශණය කරගන්නා ලද්දේ ඉතාමත් සූක්ෂම හා දියුණු යන්ත්‍ර උපකරණ මඟිනි. නමුත් නොදියුණු කාලවකවානුවක් වූ දහහතර වන සතවර්ෂයේ සිටි කිසිම කෙනෙකුට මෙවැනිදේ සොයා ගැනීමට කිසිසේත් නොහැකි බව පැහැදිළි වේ.

ඉන් උදාහරණ කිහිපයක් පමණක් පහත සඳහන් කර ඇත.

## A. මිනිස් කළල විකසනය පිළිබඳව අල් කුර්ආනයෙන්

ශුද්ධ වූ අල් කුර්ආනය මඟින් මිනිස් කළල විකසනයේ විවිධ අවධීන් පිළිබඳව දෙවියන්වහන්සේ මෙසේ සඳහන් කරයි.

> 《 *අප මිනිසාව මවන ලද්දේ මැටි නිස්සාරණයකිනි. පසුව අප එය යම් ස්ථානයක තදින් සවි වූ බිඳුවක් කළෙමු. පසුව මෙය අලකාහ් (කූඩැල්ලා, අවලම්බනය වූ ද්‍රව්‍ය, රුධිර කැටිය) තත්වයට පත් කළෙමු. ඉන්පසු එම කළලය මුද්ගාහ් අවස්ථාවක් (සපන ලද ද්‍රව්‍යක්) බවට පත් කළෙමු.*[1] 》
> *(අල් කුර්ආනය 23: 12-14)*

අරාබි භාෂාවෙන් අලකාහ් යන්නට අර්ථයන් තුනක් ඇත.

01. කූඩැල්ලා
02. අවලම්බනය වූ ද්‍රව්‍ය
03. රුධිර කැටිය යන්නයි.

මිනිස් කළල විකසනයේ අලකාහ් අවධිය කූඩැල්ලෙකුට සංසන්දනය කළ විට ඒ දෙක අතර සාමානත්වයක් පහත 01 රූපයේ ආකාරයට දක්නට හැක.[2] එසේම මෙම අවස්ථාවේ කළලය මවගේ රුධිරයෙන් පෝෂණය වන අතර එය කූඩැල්ලෙකු, කෙනෙකුගේ රුධිරයෙන් පෝෂණය වීම හා සමානය.[3]

අලකාහ්හි දෙවැනි අර්ථය වන "අවලම්බනය වූ ද්‍රව්‍යය" ගත් කළ එය පහත 2 හා 3 රූප වලින් පෙනෙන ආකාරයට මවගේ ගර්භාශයේ අවලම්බනය වූ ද්‍රව්‍යයක් ලෙස පවතී.

---

(1) මෙම විශේෂිත වූ වරහන් 《 》 තුළ ඇත්තේ අල් කුර්ආන් වදන්වලි පරිවර්තනයක් පමණක් බව සලකන්න. සත්‍ය අල් කුර්ආනයලියා ඇත්තේ අරාබි භාෂාවෙනි.

(2) The Developing Human, Moore and Persaud, 5 වන සංස්කරණය, පිටුව 8

(3) Human Development as Described in the Qur'an and Sunnah, Moore and others, පිටුව 36




01 රූපය
මිනිස් කළල විකසනයේ අලක් අවස්ථාව හා කූඩැල්ලෙකු අතර ඇති සමානත්වය පෙන්නුම් කිරීමට අඳින ලද රූපය. (Leech drawing from Human Development as Described in the Qur'an and Sunnah, Moore and others,පිටුව. 37, modified from Integrated Principles of Zoology, Hickman and others. Embryo drawing from The Developing Human, Moore and Persaud, 5වන සංස්කරණය, පිටුව 73.)




02 රූපය
මවගේ ගර්භාශයේ අවලම්බනය වූ ද්‍රව්‍යයක් ලෙස පවතින කළලය. (The Developing Human, Moore and Persaud, 5වන සංස්කරණය, පිටුව 66.)




03 රූපය
මෙම ක්‍ෂුද්‍ර ඡායාරූපය මගින් අලක් අවස්ථාවේ ඇති කළලය (ඊ) මවගේ ගර්භාශය තුල අවලම්බනය වී ඇති ආකාරය පෙන්වා ඇත. මේ අවස්ථාවේ කළලයේ සත්‍ය ප්‍රමාණය මිලිමීටර් 0.6ක් තරම් කුඩා වේ. (The Developing Human, Moore, 3වන සංස්කරණය, පිටුව 66, from Histology, Leeson and Leeson.)

අලකාහ් හි තුන්වන අර්ථය ''රුධිර කැටිය'' යන්නයි. මෙහිදී කළලයේ බාහිර පෙනුම හා එහි ආවරණය, රුධිර කැටියකට සමානය. මෙයට හේතුව මෙම අවස්ථාවේදි සාපේක්ෂව අති විශාල රුධිර ප්‍රමාණයක් එහි අන්තර්ගතව තිබීමයි.[1] (4 රූපය) තවද මෙම පියවරේදී කළලය එහි තුන්වන සතිය අවසාන වන තෙක් කිසිඳු රුධිර සංසරණයක් සිදු නොකරයි.[2] එබැවින් කළලයේ අලකාහ් අවස්ථාව රුධිර කැටියකට සමානය.

04 රූපය:
අලක් අවස්ථාවේදී කළලයේ ඇති ප්‍රාථමික රුධිර සංසරණ පද්ධතිය රූපයෙන් දැක්වේ. කළලයේ පිටත පෙනුමත්, එහි ඇති ආවරණයත්, කළලයේ සාපේක්ෂව අධික ප්‍රමාණයක් රුධිරය අඩංගු බැවින් රුධිර කැටියකට සමාන වෙයි. (The Developing Human, Moore, 5වන සංස්කරණය, පිටුව 65.)




එබැවින් අලකාහ් යන වචනයේ අර්ථ තුනම කළල අවස්ථාවට මනාව ගැලපේ.

ඉන්පසුව ඇති පියවර ලෙස කුර්ආනයේ සඳහන් වන්නේ මුද්ගාහ් අවධිය ලෙසයි. මෙම අරාබි වචනයේ අර්ථය වන්නේ ''විකනලද ද්‍රව්‍යයක්'' [3] යන්නයි. යමෙක් චුවිංගම් එකක් කටේ දමා සපා එය පිටතට ගෙන කළල අවස්ථාව සමඟ සංසන්දනය කළවිට, මුද්ගාහ් පියවරේ ඇති කළලය විකනලද ද්‍රව්‍යයේ හැඩයට සමාන බව පෙනීයයි. මෙයට හේතුව කළලයේ පිටුපස ඇති කශේරුකා, විකන ලද ද්‍රව්‍යයේ දත් සලකුණු වල හැඩයට සමාන වීමයි. (5 සහ 6 රූප සටහන)

එසේනම්, දැනට වසර දහ හතරදාහකට පෙර මුහම්මද් ﷺ තුමා මෙය දැන සිටියේ කෙසේද? දක්ෂ විද්‍යාඥයින් පවා මෑතකදී මේවා සොයා ගන්නා ලද්දේ වසර වසර දහ හතරදාහකට පෙර නොතිබුණු දියුණු තාක්ෂණික උපකරණ හා සියුම් අන්වීක්ෂ භාවිතා කරමිනි.

(1) Human Development as Described in the Qur'an and Sunnah, Moore and others, පිටුව. 37 38.

(2)The Developing Human, Moore and Persaud, 5වන සංස්කරණය,පිටුව 65

(3) The Developing Human, Moore and Persaud, 5වන සංස්කරණය, පිටුව 08



05 රූපය:
මුද්ගාහ් අවධියේ ඇති කළලයක ඡායාරූපය (දින 28ක් වයසැති) මෙම අවධියේදී කළලය විකන ලද ද්‍රව්‍යයක ස්වරූපය ගනියි. හේතුව මේ අවධියේදී කළලයේ කශේරුකා පෘෂ්ඨය විකන ලද ද්‍රව්‍යයක ඇති දත් සළකුණු වලට තරමක් සමාන හැඩයක් ගැනීමයි. මේ අවධියේ කළලයේ ප්‍රමාණය 4mm වේ. (The Developing Human, Moore and Persaud 5 වන සංස්කරණය, පිටුව 82, from Professor Hideo Nishimura, Kyoto University, Kyoto, Japan.)






06 රූපය:

මුද්ගාහ් අවධියේ ඇති කළලය, විකූ චුවිංගම් කැබැල්ලක් හා සංසන්දනය කළ විට එම ස්වරූප දෙකෙහි සමානතා අපට හඳුනාගත හැක.

A මුද්ගාහ් අවධියේ ඇති කළලයක රූප සටහන. මෙහි කශේරුකා පෘෂ්ඨයෙහි හැඩය දත් සළකුණු වලට සමානය. (The Developing Human, Moore and Persaud, 5වන සංස්කරණය, පිටුව 79.)

B විකූ චුවිංගම් කැබැල්ලක ඡායාරූපය.

හැම් සහ ලියුවැන්හොක් (Hamm & Leeuwenhoek) මිනිස් ශුක්‍රාණු සෛල පිළිබද මුලින්ම නිරීක්ෂණය කළ විද්‍යාඥයින් දෙදෙනා වන අතර මේ සඳහා වැඩිදියුණු කළ අන්වීක්ෂ යොදා ගන්නා ලදී. මෙසේ කරන ලද්දේ ක්‍රි.ව. 1677 දීය. එනම් මුහම්මද් ﷺ තුමාගේ කාලයේ සිට වසර 1000කට පමණ පසුවය. නමුත් ඔවුන් පැවසුවේ, ශුක්‍රාණුව යනු මිනිස් කළලයේ ඉතා කුඩා අවධිය බවත්, එය ස්ත්‍රී ප්‍රජනන පද්ධතියට ඇතුළු පසු වර්ධනය වන බවත් යනුවෙනි. ඔවුන් එය වරදවා වටහා ගන්නා ලදී. [1]

මහාචාර්ය එමරිටස් කීත් එල්. මුවර්, කළල විද්‍යාව හා කායව්‍යවච්ඡේදය පිළිබඳ මුළු ලොවේම ප්‍රසිද්ධියක් දරාසිටින විද්‍යාඥයකි. ඔහු The Developing Human නම් ග්‍රන්ථයේ කතුවරයා වන අතර එය දැනට භාෂා අටකට පරිවර්තනය කර ඇත. මෙය විද්‍යාත්මක නිර්දේශනයක් වන අතර ඇමෙරිකාවේ විශේෂ නියෝජිත මණ්ඩලයක් විසින් මෙය තනි පුද්ගලයෙකු විසින් රචනා කරන ලද උත්කෘෂ්ට ග්‍රන්ථයක් බවට තෝරා ගන්නා ලදි. මොහු කායව්‍යවච්ඡේදය හා සෛල විද්‍යාව පිළිබද කැනඩාවේ ටොරන්ටෝ විශ්ව විද්‍යාලයේ මහාචාර්යවරයෙකි. ඔහු වෛද්‍ය පීඨයේ සහකාර පීඨාධිපති ලෙසද කායව්‍යවච්ඡේද අංශයේ සභාපති ලෙස වසර 8 ක් සේවය කර ඇත. 1984 දී කැනඩාවේ කායව්‍යවච්ඡේද සංගමය විසින් පිරිනමන කායව්‍යවච්ඡේද අංශය පිළිබඳව විශිෂ්ටතම සම්මානය වන J.C.B Grant Award නම් සම්මානය ඔහු විසින් දිනා ගන්නා ලදී. ඔහු කැනඩා සහ ඇමරිකා කායව්‍යවච්ඡේදය සංගමය, ජීව විද්‍යා කවුන්සිලය වැනි සංගම් රැසක සභාපති ධූරය හොබවා ඇත.

1981, සවිදි අරාබියේ දමාම් හි පැවති හත්වන සමුළුවේදි මහාචාර්ය මුවර් මෙසේ පවසා ඇත. "මානව විකසනය සම්බන්ධව අල් කුර්ආනයේ සඳහන් දෑ පිළිබඳව පැහැදිළි ප්‍රකාශයක් කිරීමට ලැබීම ඉමහත් භාග්‍යයක් ලෙස සලකමි. මෙහි අඩංගු ප්‍රකාශනයන් ඇත්තවශයෙන්ම මුහම්මද් ﷺ හට දෙවියන්වහන්සේ විසින් පවසා ඇත යන්න මට ඉතා පැහැදිළිය. මක්නිසාද මෙම ප්‍රකාශනයන් වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ කාලයේ සිට සියවස් ගණනක්ම යනතුරු සොයාගෙන නොතිබීමයි. මෙයින් ඔප්පු වන්නේ මුහම්මද්, ﷺ දෙවියන්වහන්සේගේ පණිවිඩකරුවෙකු බවයි." [2]

"ඒ කියන්නේ ඔබ, අල් කුර්ආනය දෙවියන්වහන්සේගේ වචන බව විශ්වාසකරනවා යන්නද?" යන්න මෙහිදි ඔහුගෙන් අසන ලද ප්‍රශ්නයකට "ඒ ගැන මට කිසම සැකයක් නැත" [3] යන්නෙන් පිළිතුරු දී ඇත.

තවත් සම්මන්ත්‍රණයකදී මහාචාර්ය මුවර් මෙසේ ප්‍රකාශ කර ඇත "........ එකිනෙකට අනුයුක්ත විකසනයේදී සිදුවන විවිධ වෙනස්කම් නිසා මිනිස් කළල විකසනය බොහෝ සංකීර්ණය. එබැවින් මේ සඳහා අල් කුර්ආනයේ හා සුන්නාහ් (මුහම්මද් ﷺ තුමා කියන ලද, කරන ලද හා අනුමත කරන ලද දේ) වල ඇති පද යොදාගෙන නව වර්ගීකරණ ක්‍රමයක් සිදුකළ යුතුයි."

---

(1) The Developing Human, Moore and Persaud, 5වන සංස්කරණය,පිටුව 9

(2) මෙම ප්‍රකාශය සඳහා තොරතුරු ලබා ගන්නා ලද්දේ This is the Truth මගිනි. (වීඩියෝ පටයකි) එම වීඩියෝ පටයෙහි පිටපතක් ලබා ගැනීම සඳහා පිටු අංක 66 හි සඳහන් සංවිධානයන්ගෙන් එකක් සමඟ සම්බන්ද වන්න.

(3) This is the Truth (වීඩියෝ පටය)

යෝජනා කරන ලද ක්‍රමය සරලය එසේම පුළුල්ය. එපමණක් නොව එය වර්තමාන කළල විද්‍යාත්මක දැනුම තහවුරු කරයි. අවසාන සිව්වසර තුළ පහළ වූ කුර්ආන් වැකි හා හදිස් (මුහම්මද් තුමා කියන ලද, කරන ලද හා අනුමත කරන ලද දේ පිළිබඳව එතුමාගේ අනුගාමිකයින් විසින් වාර්ථා කරන ලද විශ්වාස කළ හැකි සම්ප්‍රේෂිත වාර්තා) සියුම්ව අධ්‍යයනය කිරීමෙන් මිනිස් කළල විකසනයේ විවිධ අවස්ථා වර්ගීකරණය කිරීමට ක්‍රමයක් හෙළි දරවු කරගෙන ඇති අතර, පුදුමයට කරුණ නම් මේ තොරතුරු සටහන් කර තබා තිබුණේ ක්‍රි.ව. හත්වන සියවසේදී විමයි.

කළල විද්‍යාව සොයාගත් "ඇරිස්ටෝටල්", කිකිළි බිත්තර අධ්‍යයනය කිරීම මඟින් කුකුළු කළලය විවිධ අවදි සහිතව වැඩෙන බව ක්‍රි.පූ හතරවන සියවසේදී නිරීක්ෂණය කර තිබුණත්, මෙම විවිධ අවධි පිළිබඳව කිසිඳු විස්තරයක් සඳහන් කර නොතිබුණි. මෙසේ අතීතයේ සිට විසිවන සියවස වනතෙක්, කළල විකසනයේ විවිධ අවස්ථාවන් පිළිබඳවත්, එහි වර්ගීකරණය පිළිබඳවත් දැන සිටි කරුණක් වේ නම් ඒ ඉතා අල්පය. මේ නිසා අල් කුර්ආනයේ ඇති මිනිස් කළල පිළිබඳව විස්තර ක්‍රි.ව. හත්වන සියවසේදී තිබූ විද්‍යාත්මක දැනුම මත පදනම් වූවක් විය නොහැක. එබැවින් මේ සඳහා දිය හැකි සාධාරණ නිගමනය වන්නේ: අකුරු ලිවීමට හෝ කියවීමට නොදත් කිසිඳු විද්‍යාත්මක පුහුණුවක් නොලද මුහම්මද් ﷺ තුමාට හෙළි දරව් කරන ලද්දේ දෙවියන්වහන්සේ විසින්ය යන්නයි.[1]

## B. කඳු පිළිබඳව අල් කුර්ආනයෙන්

Earth නැමැති ග්‍රන්ථයක් ලොව පුරා ඇති විශ්ව විද්‍යාලවල මූලික පොතක් ලෙස භාවිතා වෙයි. මහාචාර්ය එමරිටස් ෆ්‍රෑන්ක් ප්‍රෙස් (Frank Press) යනු එම ග්‍රන්ථයේ කතුවරුන්ගෙන් කෙනෙකි. ඔහු හිටපු ඇමරිකානු ජනාධිපති ජිමී කාටර් (Jimmy Carter) මහතාගේ විද්‍යා උපදේශක ලෙසද කටයුතු කළේය. එසේම ඔහු වසර දොළහක් වොෂිංටනයේ ජාත්‍යන්තර විද්‍යා ඇකඩමියේ සභාපති ධූරය ද හෙබවීය. ඔහුගේ ග්‍රන්ථයේ සඳහන් වන ආකාරයට කඳු වලට යටින් පොළව තුළ ගිලුන මුල්[2] පවතන ලෙසත් මේවා ඉතා තදින් පොළව තුළට කාවැදී ඇති බැවින් කන්දකට කූංඤයක හැඩයක් ලැබී ඇති බවද සඳහන් වේ.

*﴾අපි පොළොව අතුරණයක් නොකලෙමුද? කඳු කූංඤ මෙන් නොකලෙමුද?﴿*
*(අල් කුර්ආනය 78:6-7)*

---

(1) This is the Truth (වීඩියෝ පටය) පිටපතක් ලබා ගැනීම සඳහා පිටු අංක 10 හි සඳහන් අංක 2 අධෝ ලිපිය බලන්න.

(2) Earth, Press and Siever, පිටුව 435. එසේම බලන්න Earth Science, Tarbuck and Lutgens, පිටුව 157.




9 රූපය
ගැඹුරු මුල් පැවතීම හේතුවෙන් කඳුවලට කූංඤ හැඩයක් ලැබී ඇත්තේ කෙසේ දැයි පෙන්වන තවත් රූප සටහනක් (Earth, Press and Siever, පිටුව 413.)




7 රූපය
කඳුවලට පොළොවේ මතු පිට පෘෂ්ඨයෙන් යටට විහිදුන ගැඹුරු මුල් ඇත. (Anatomy of the Earth, Cailleux, පිටුව 220.)




8 රූපය
දික්කඩක් කූංඤ හැඩය ගත් කඳුවලට පොළොව තුළට කා වැදුණු ගැඹුරු මුල් පවතියි.(Earth Science, Tarbuck and Lutgens, පිටුව 158.)

නවීන විද්‍යාව මඟින් කඳු වලට පොළොව මතුපිට පෘෂ්ඨයෙන් යට, පොළොව තුළට ගැඹුරින් කා වැදුණු මුල් පවතින බවට සනාත කර ඇති අතර (9 රූපය) මෙම මුල්වල ගැඹුර,

පොළොවෙන්[1] උඩට මතු වී අපට පෙනෙන කඳුවල උස ප්‍රමාණය මෙන් කිහිප ගුණයක් විශාලය. එබැවින් මෙම තොරතුරු සැලකීමට ගන්නා විට කඳු හැඳින්වීම සඳහා ''කූංඤ්ඤය'' යන වචනය ඉතාම උචිතය. මක්නිසාද යත් බොහෝ විට පොළොව මත මනාව ගසන ලද කූංඤ්ඤයක විශාලම කොටස පොළොව තුළ සැඟවී පවතී.

විද්‍යාවේ ඉතිහාසය අපට පවසන්නේ, කඳුවලට යටින් ඇති ගැඹුරු මුල් පිළිබඳව සිද්ධාන්තය හඳුන්වාදුන්නේ 1865 දී තාරකා විද්‍යාඥයෙකු වූ ශ්‍රීමත් ජෝර්ජ් අයිරි රෝයල් (Royal, Sir George Airy) විසින් බවයි.[2]

පොළොවේ මතුපිට සිවිය සමතුළිත තාවයේ තබාගැනීම[3] සඳහා කඳුමඟින් විශාල මෙහෙයක් සිදු කෙරෙයි. කඳුමඟින් පොළොව චලනය වීම අඩු කරයි.

දෙවියන්වහන්සේ ශුද්ධ වූ අල් කුර්ආනයේ මෙසේ පවසයි.

> *﴾ඔබ හා පොළොව කම්පා නොවනු පිණිස තදින් පොළොවට සවි වූ කඳුද, ඔබට හරි මග දැනගනු පිණිස ගංගාද මංමාවත්ද එහි පිහිටෙව්වේය.﴿*
> *(අල් කුර්ආනය 16:15)*

මෙලෙස ඉතා මෑත කාලයේදී දියුණු තාක්ෂණික ක්‍රම (Plate Tectonics) මඟින් සොයා ගත් ආකාරයට කඳු පොළොව සමතුළනය කිරීමට විශාල කාර්‍යභාරයක් ඉටුකරයි. මෙම සොයා ගැනීම් වල මුලාරම්භය සිදු වූයේ 1960දී පමණ වූ මෑත කාලයේදීය.[4]



ඇත්තටම වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ කාලයේ සිටින ලද කිසිකෙනෙකුට කඳුවල සැබෑ හැඩය ගැන මෙසේ වැටහීමක් තිබෙන්නට ඇත්ද? ඇත්තෙන්ම ඒ කාලයේ සිටි මිනිසෙක් තමා ඉදිරියේ පවතින විශාල, උස්වූ කන්දක් දෙස බලා මෙහි පොළොව යට මෙම කන්දට යටින් විශාල මුලක් පවතියි යැයි විද්‍යාත්මකව සිතන්නට ඇත්ද? කිසිසේත්ම නැත. හේතුව එදා මිනිසාට ඒ පිළිබඳව ඥානයක් නොතිබීමයි. කෙසේ නමුත් නවීන භූ විද්‍යාව මඟින් කුර්ආන් වැකිවල තිබූ සත්‍යතාවය අද දින වන විට ඔප්පු කර අවසානය.

---

(1) The Geological Concept of Mountains in the Qur'an, El-Naggar,පිටුව. 5.

(2) Earth, Press and Siever, පිටුව 435. එසේම බලන්න Geological Concept of Mountains in the Qur'an,, පිටුව 5.

(3) The Geological Concept of Mountains in the Qur'an, පිටුව 44-45.

## C. විශ්වයේ සම්භවය පිළිබඳව අල් කුර්ආනයෙන්

නවීන අජටාකාශවිද්‍යාවෙහි නිරීක්ෂණවලට හා න්‍යායයන්ට අනුව එක්තරා කාල වකවානුවකදී මුළු විශ්වයම එකම "දුමාරයක්" බව පැහැදිළිවම පෙන්නුම් කරයි. (එය විනිවිද නොපෙනෙන ඉතාමත් අධික ඝනත්වයෙන් යුත් උණුවූ වාතයෙන් සමන්විතය)[1] මෙය නවීන අජටාකාශවිද්‍යාවෙහි පවතින මතභේදයට තුඩු නොදුන් මූලධර්මයන්ගෙන් එකකි. එම දුමාරයෙහි අවශේෂයන් මඟින් නව තාරුකා ඇතිවීම නිරීක්ෂණය කිරීමට විද්‍යාඥයන්ට වර්ථමානයේදී හැකිවී තිබෙයි. (10 හා 11 රූප සටහන් බලන්න) රාත්‍රි අහසේ අපට දක්නට ලැබෙන දීප්තිමත් තාරකා සියල්ලද විශ්වයෙහි පවතින අනෙකුත් සියළුම දේවල්ද එම "දුමාරයට" අයත්ව තිබුණි.

දෙවියන්වහන්සේ ශුද්ධ වූ අල් කුර්ආනයේ සඳහන් කර ඇති ආකාරයට

> *එවෙලෙහි ඔහු අහස දෙස බැලීය, එවිට එය දුමාරයක්ව පැවතුණි.*
> (අල් කුර්ආනය 41:11)

පොළොව හා අපට ඉහළින් ඇති අහස් (සූර්යයා, චන්ද්‍රයා, තාරුකා, ග්‍රහලෝක, මන්දාකිණි....) යන සියල්ල මෙම එකම "දුමාරයෙන්" නිර්මාණය වී ඇති බැවින් අපට අහස් හා පොළොව එකටම යාවුන වස්තුවක් ලෙස තිබී ඇති බව නිගමනය කළ හැක. මෙම සජාතීය "දුමාරයෙන්" ඒවා නිර්මාණය වී එකිනෙක වෙන්වී ඇත.

දෙවියන්වහන්සේ ශුද්ධ වූ අල් කුර්ආනයේ පවසන ආකාරයට

> *නියතවශයෙන්ම අහස් හා මහපොළොව යන දෙකම මුළදී එකට සම්බන්ධ වූ ස්වීතියක් විය. පසුව අපි ඒ දෙක වෙන්කළෙමු.*
> (අල් කුර්ආනය 21 :30)

මහාචාර්ය ඇල්ෆ්රෙඩ් ක්‍රෝනර් (Dr. Alfred Kroner) යනු ලොව සුපතළ භූ විද්‍යාඥයෙකි. ඔහු භූවිද්‍යා මහාචාර්යවරයෙකු වන අතර ජර්මනියේ මෙයින්ස්හි පිහිටි ජොහැන්ස් ගුටෙන්බර්ග් විශ්ව විද්‍යාලයේ භූවිද්‍යා ආයතනයේ භූවිද්‍යා දෙපාර්තුමේන්තුවේ සභාපති ධූරයද හොබවයි. ඔහු පැවසූ ආකාරයට
"මුහම්මද් ﷺ කොහේ සිට පැමිණි කෙනෙක් දැයි සිතා බලන විට .... මා සිතන ආකාරයට නම් විශ්වයේ පොදු සම්භවය පිළිබඳව ඔහු දැන සිටීමේ කිසිඳු හැකියාවක් තිබෙන්නට නොහැකිය. මක්නිසාද යත්, විද්‍යාඥයින් පවා මේ පිළිබඳව සොයාගන්නා ලද්දේ පසුගිය වසර දහය තුළදී ඉතාමත් සංකීර්ණ හා දියුණු තාක්ෂණික ක්‍රම යොදා ගෙනයි".[2]

(1) The First Three Minutes, a Modern View of the Origin of the Universe, Weinberg පිටුව 94-105.

(2) මෙම ප්‍රකාශය සඳහා තොරතුරු ලබාගන්නා ලද්දේ This is the Truth :වීඩියෝ පටය* මගිනි. මෙහි පිටපතක් ලබාගැනීම සඳහා හෝ මහාචාර්ය ඇල්ෆ්රෙඩ් ක්‍රෝනර් මහතාගේ අර්ථ කථනය සඳහා කරුණාකර www.islam-guide.com/truth නැමැති වෙබ් අඩවියට පිවිසෙන්න.

10 රූපය

වායු හා දූවිලි වලාවක් මඟින් නව තාරකාවක් (නෙබියුලාවක්) සම්භවය වන ආකාරය මෙහි දැක්වේ. මෙම වලාව සකළ විශ්වයම සම්භවය වූ එම "ධූමයෙහි" අවශේෂයන්ගෙන් එකකි. (The Space Atlas, Heather and Henbest, පිටුව 50.)





11 රූපය

ආලෝක වර්ෂ 60ක පමණ විශ්කම්භයකින් යුක්ත "ලගූන්" නම් නෙබියුලාව දූවිලි හා වායු වාලාවකි. එය තුළ මෑතකදී සම්භවය වූ අධික උෂ්ණත්වයෙන් යුත් තාරකාවල පාරජම්බුල කිරණ මඟින් එය ක්‍රියාකාරී වී ඇත.(Horizons, Exploring the Universe, Seeds, plate 9, from Association of Universities for Research in Astronomy, Inc.)

එසේම ඔහු මෙසේද පැවසීය. "දැනට වසර එක්දහස් හාරසියයකට පෙර සිටි න්‍යෂ්ටික භෞතික විද්‍යාව පිළිබඳව කිසිවක් නොදන්නා මිනිසෙකුට ඔහුගේම මනස තුළින් මෙම පෘථිවිය හා අහස් එකම සම්භවයකින් යුක්ත බව පවසන්නට නොහැකි බවයි, මට නම් සිතෙන්නේ."[1]

## D. මස්තිෂ්කය පිළිබඳව අල් කුර්ආනයෙන්

මුහම්මද් ﷺ තුමාට ශුද්ධ වූ කඃබා දේවස්ථානයෙහි දෙවියන් නැමදීම තහනම් කරන ලද, දේව විශ්වාසයෙන් තොරවූ එක්තරා දුෂ්ඨ පුද්ගලයෙකු පිළිබඳව දෙවියන්වහන්සේ ශුද්ධ වූ අල් කුර්ආනයෙහි පහත ආකාරයට සඳහන් කොට ඇත.

> ﴾ *නැත! ඔහු නොවළකියි නම් අපි ඔහුව නාසියග් ( හිසේ ඉදිරිපස කොටසෙ ) වෙන් ඇදගෙන යන්නෙමු. මුසාබස් කියන, පාපකාරී නාසියග්වකි ( හිසේ ඉදිරිපස කොටස ) (අල් කුර්ආනය 96:15-16)* ﴿

අල් කුර්ආනයෙහි, හිසේ ඉදිරිපස කොටස මුසාබස් කියන, පාපකාරී දෙයක් ලෙස හඳුන්වා දී ඇත්තේ ඇයි ? කුර්ආනය මඟින් එම පුද්ගලයා බොරු කියන්නෙකු හෝ පව් කාරයෙකු බව නොපවසන්නේ ඇයි ? මුසාබස් පැවසීම හා පාපකාරී බව හිසෙහි ඉදිරිපස කොටස සමඟ දක්වන සම්බන්ධතාවය කුමක්ද?

මිනිස් හිස් කබළ තුළ පවතින හිසේ ඉදිරිපස කොටස දෙසට අපගේ අවධානය යොමු කළහොත් අපහට පූරෝලලාට පෙදෙස (Prefrontal Area) දැකගත හැක. (12 රූප සටහන බලන්න) මෙම පෙදෙසෙහි කාර්යය පිළිබඳව කායික විද්‍යාවෙහි පවසන්නේ කුමක්ද ? Essential of Anatomy & Physiology නම් ග්‍රන්ථයෙහි මෙම පූරෝලලාට පෙදෙස පිළිබඳව පවසා ඇත්තේ මෙසේය. "චලනයක් ඇති වීම තීරණය කිරීම සහ ආරම්භ කිරීම සඳහා පෙළඹවීම් ඇති කරනුයේත් දූරදර්ශීභාවය ඇති කරනුයේත් ලලාට ඛණ්ඩිකාවෙහි පූර්ව කොටස වන පූරෝලලාට පෙදෙසෙහිය. මෙය සංගාමී බාහිකයෙහි කොටසකි."[2] එසේම මෙම ග්‍රන්ථයේ පවසන ආකාරයට " පෙළඹවීම් ඇති කිරීම කෙරෙහි එම කොටසෙහි ඇති සම්බන්ධතාවය සළකා බැලූ විට පූරෝලලාට පෙදෙස ආක්‍රමණකාරී හැසිරීම් සඳහා වූ මූලික ක්‍රියාකාරී මධ්‍යස්ථානය ලෙසද සිතිය හැක. ....." [3]

එබැවින් මස්තිෂ්කයේ මෙම පෙදෙස යමක් තීරණය කිරීම, ඒ සඳහා පෙළඹවීම් ඇති කිරීම, යහපත් මෙන්ම අයහපත් හැසිරීම් ආරම්භ කිරීම යනාදිය දේ සිදුකිරීමට මූලික වන පෙදෙස වන අතරම, මෙම පෙදෙස සත්‍ය සේම, අසත්‍ය කතා කිරීම යනාදියටද හේතු කාරක වෙයි. එබැවින් යමෙකු මුසා බස් පවසන අවස්ථාවේදී හෝ පාපකාරී ක්‍රියාවක යෙදෙන අවස්ථාවේදී කුර්ආනයෙහි මුසා බස් කියන, පාපකාරී නාසියග්වකි ( හිසේ ඉදිරිපස කොටස ) පවසා ඇති ආකාරයටම හිසෙහි ඉදිරිපස කොටස මුසා බස් කියන, පාපකාරී පෙදෙසක් ලෙස නම් කිරීම ඉතාමත් සුදුසු වෙයි.

---

(1) This is the Truth (වීඩියෝ පටය)

(2) Essentials of Anatomy&Physiology, Seeley and others, පිටුවග 211 බලන්න The Human Nervous System, Noback and others, පිටුව. 410-411.

(3) Essentials of Anatomy & Physiology, Seeley and others, පිටුව 211.




12 රූපය : මස්තිෂ්ක බාහිකයෙහි වම් මස්තිෂ්ක අර්ධගෝලයෙහි ක්‍රියාකාරී පෙදෙසයි මේ. මස්තිෂ්ක බාහිකයෙහි පූර්ව කොටසෙහි පුරෝලලාට පෙදෙස පිහිටා ඇත. (Essentials of Anatomy & Physiology, Seeley and others, පිටුව. 210.)

මහාචාර්ය කීත් එල් මුවර් (Prof. Keith L Moore) පවසන ආකාරයට විද්‍යාඥයින් විසින් මෙම පූරෝලලාට පෙදෙසෙහි කාර්යය පිළිබඳව සොයාගන්නා ලද්දේ මීට අවුරුදු 60 කට ඉහතදීය. [1]

## E. සාගර හා ගංගා පිළිබඳව අල් කුර්ආනයෙන්

එකිනෙකට වෙනස් මුහුදු දෙකක් හමුවන තැනක, එම මුහුදු දෙක අතර බාධකයක් පවතින බව නවීන විද්‍යාව මඟින් සොයා ගෙන ඇත. මෙම බාධකය මුහුදු දෙක වෙන් කරන බැවින් එක් එක් මුහුදකම එයටම පොදු වූ උෂ්ණත්වයන්, ලවණතාවයන්, හා ඝනත්වයන් ඇත.[2] උදාහරණයක් ලෙස මධ්‍යධරණී මුහුද ගත් විට එහි ජලය අත්ලාන්තික් සාගරයේ ජලයට වඩා උණුසුම් වූද, ලවණතාව අධික වූද, අඩු ඝනත්වයක් ද ඇති ජලය වේ. මධ්‍යධරණී මුහුදේ ජලය ගිබ්‍රැල්ටා විවරය මඟින් කිලෝමීටර් සිය ගණනක් දුරටත්, මීටර් දහසක් පමණ ගැඹුරටත් අත්ලාන්තික් සාගරය තුළට ඇතුළු වන්නේ එයටම ආවේණික උෂ්ණත්වය, ලවණතාවය, හා අඩු ඝනත්වය

---

(1) Al-E'jaz al-Elmy fee al-Naseyah (The Scientific Miracles in the Front of the Head), Moore and others, පිටුව. 41.

(2) Principles of Oceanography, Davis, පිටුව. 92-93.




12 රූපය : මස්තිෂ්ක බාහිකයෙහි වම් මස්තිෂ්ක අර්ධගෝලයෙහි ක්‍රියාකාරී පෙදෙසයි මේ. මස්තිෂ්ක බාහිකයෙහි පූර්ව කොටසෙහි පුරෝලලාට පෙදෙස පිහිටා ඇත. (Essentials of Anatomy & Physiology, Seeley and others, පිටුව. 210.)

මහාචාර්ය කීත් එල් මුවර් (Prof. Keith L Moore) පවසන ආකාරයට විද්‍යාඥයින් විසින් මෙම පූරෝලලාට පෙදෙසෙහි කාර්යය පිළිබඳව සොයාගන්නා ලද්දේ මීට අවුරුදු 60 කට ඉහතදීය. [1]

## E. සාගර හා ගංගා පිළිබඳව අල් කුර්ආනයෙන්

එකිනෙකට වෙනස් මුහුදු දෙකක් හමුවන තැනක, එම මුහුදු දෙක අතර බාධකයක් පවතින බව නවීන විද්‍යාව මඟින් සොයා ගෙන ඇත. මෙම බාධකය මුහුදු දෙක වෙන් කරන බැවින් එක් එක් මුහුදකම එයටම පොදු වූ උෂ්ණත්වයන්, ලවණතාවයන්, හා ඝනත්වයන් ඇත.[2] උදාහරණයක් ලෙස මධ්‍යධරණී මුහුද ගත් විට එහි ජලය අත්ලාන්තික් සාගරයේ ජලයට වඩා උණුසුම් වූද, ලවණතාව අධික වූද, අඩු ඝනත්වයක් ද ඇති ජලය වේ. මධ්‍යධරණී මුහුදේ ජලය ගිබ්‍රැල්ටා විවරය මඟින් කිලෝමීටර් සිය ගණනක් දුරටත්, මීටර් දහසක් පමණ ගැඹුරටත් අත්ලාන්තික් සාගරය තුළට ඇතුළු වන්නේ එයටම ආවේණික උෂ්ණත්වය, ලවණතාවය, හා අඩු ඝනත්වය

(1) Al-E'jaz al-Elmy fee al-Naseyah (The Scientific Miracles in the Front of the Head), Moore and others, පිටුව. 41.

(2) Principles of Oceanography, Davis, පිටුව. 92-93.

## F. ගැඹුරු මුහුද හා අභ්‍යන්තර තරංග පිළිබඳව අල් කුර්ආනයෙන්

දෙවියන්වහන්සේ අල් කුර්ආනයෙහි සඳහන් කරන ආකාරයට

> *නැතහොත් (දේව විශ්වාසය නොකරන්නන්ගේ) ස්වාභාවය ගැඹුරු සමුද්‍රයේ අඳුර බඳුය. රැළක් එය වසයි. ඒමත නව රැල්ලකි. ඒමත වලාකුළකි. අඳුර මත අඳුරය. යමෙකු ඔහුගේ අත විහිදුවන්නේ නම් ඔහු එය නොදකින්නේය.....*
> (අල් කුර්ආනය 24:40)

මෙම වාක්‍යයේ සඳහන් කරන ආකාරයට, ගැඹුරු සාගරයේ හා මුහුදෙහි පවතින අඳුර පිළිබඳව විස්තර කෙරෙන ආකාරයට, එහිදී මිනිසෙකු තම අත් දිගුකළ විට ඔහුට එය නොපෙනේ. ගැඹුරු සාගරවල හා මුහුදෙහි අඳුර පවතින්නේ මීටර් 200ක් හෝ එයට වඩා වැඩි ගැඹුරකදීය. මෙම ගැඹුරේදී එහි කිසිදු ආලෝකයක් නොමැති තරම්ය. (15 වන රූපය බලන්න) මීටර් 1000කට වඩා වැඩි ගැඹුරකදී එහි කිසිදු ආලෝකයක් ඇත්තෙන්ම නැත. [1]




15 රූපය

සාගරයේ මතු පිට පෘෂ්ඨය මඟින් සූර්යාලෝකයෙන් 3% ත් 30% ත් අතර ප්‍රමාණයක් පරාවර්තනය කෙරෙයි. ඉන්පසුව ආලෝක වර්ණාවලියෙහි පවතින වර්ණ හත අතුරින් නිල්පාට හැර අනෙකුත් සියළුම වර්ණ පළමු මීටර 200ක ගැඹුර තුළදී එකකට පසුව අනෙක ලෙස සම්පූර්ණයෙන්ම අවශෝෂණයට ලක්වෙයි. (Oceans, Elder and Pernetta, පිටුව. 27.)

---

(1) Oceans, Elder and Pernetta, පිටුව 27

## F. ගැඹුරු මුහුද හා අභ්‍යන්තර තරංග පිළිබඳව අල් කුර්ආනයෙන්

දෙවියන්වහන්සේ අල් කුර්ආනයෙහි සඳහන් කරන ආකාරයට

> *නැතහොත් (දේව විශ්වාසය නොකරන්නන්ගේ) ස්වාභාවය ගැඹුරු සමුද්‍රයේ අඳුර බඳුය. රැළක් එය වසයි. ඒමත නව රැල්ලකි. ඒමත වලාකුළකි. අඳුර මත අඳුරය. යමෙකු ඔහුගේ අත විහිදුවන්නේ නම් ඔහු එය නොදකින්නේය.....*
> (අල් කුර්ආනය 24:40)

මෙම වාක්‍යයේ සඳහන් කරන ආකාරයට, ගැඹුරු සාගරයේ හා මුහුදෙහි පවතින අඳුර පිළිබඳව විස්තර කෙරෙන ආකාරයට, එහිදී මිනිසෙකු තම අත් දිගුකළ විට ඔහුට එය නොපෙනේ. ගැඹුරු සාගරවල හා මුහුදෙහි අඳුර පවතින්නේ මීටර් 200ක් හෝ එයට වඩා වැඩි ගැඹුරකදීය. මෙම ගැඹුරේදී එහි කිසිදු ආලෝකයක් නොමැති තරම්ය. (15 වන රූපය බලන්න) මීටර් 1000කට වඩා වැඩි ගැඹුරකදී එහි කිසිදු ආලෝකයක් ඇත්තෙන්ම නැත. [1]




15 රූපය
සාගරයේ මතු පිට පෘෂ්ඨය මඟින් සූර්යාලෝකයෙන් 3% ත් 30% ත් අතර ප්‍රමාණයක් පරාවර්තනය කෙරෙයි. ඉන්පසුව ආලෝක වර්ණාවලියෙහි පවතින වර්ණ හත අතුරින් නිල්පාට හැර අනෙකුත් සියළුම වර්ණ පළමු මීටර 200ක ගැඹුර තුළදී එකකට පසුව අනෙක ලෙස සම්පූර්ණයෙන්ම අවශෝෂණයට ලක්වෙයි. (Oceans, Elder and Pernetta, පිටුව. 27.)

(1) Oceans, Elder and Pernetta, පිටුව 27

සබ්මැරීන හෝ විශේෂිත උපකරණවල සහාය නොමැතිව මිනිසාට මීටර් 40කට වඩා වැඩි ගැඹුරකට කිමිදීමේ හැකියාවක් නොමැත. මීටර් 200ක් තරම් ගැඹුරක් ඇති සාගරයේ අඳුරු පෙදෙසෙහි, උපකරණ කිසිවක උපකාරයෙන් තොරව ජීවතය රැක ගැනීමේ හැකියාවක් මිනිසෙකුට නොමැත.

විද්‍යාඥයින් විසින් මෑතකදී සාගර පත්ලෙහි පවතින මෙම අඳුර පිළිබඳව සොයාගන්නා ලද්දේ, සාගරවල ගැඹුරු ප්‍රදේශ වල ගමන් කිරීමට ඔවුනට උපකාරී වූ විශේෂ උපකරණ සහ සබ්මැරීන වල උපකාරයෙනි.

ඉහත වාක්‍යයෙහි පහත දැක්වෙන "***......ගැඹුරු සමුද්‍රයේ අඳුර බඳුය. රැළක් එය වසයි. ඒමත තව රැල්ලකි. ඒමත වලාකුළකි. අඳුර මත අඳුරය.***" යන වැකිය තුළින් අපට තවදුරටත් තේරුම් ගත හැකි වන්නේ මුහුදු හා සාගරවල ඇති ගැඹුරු ජල කඳන්, තරංග වලින් ආවරණය වී ඇති බවත් මෙම තරංග වලට ඉහළින් තවත් තරංග පවතින බවත්ය. ඉහත පවතින දෙවන වර්ගයේ තරංග යනු අපට දක්නට ලැබෙන මතුපිට තරංග (රළ)යි. ඉහත වාක්‍යයේ පවසන ආකාරයට දෙවන වර්ගයේ තරංග වලට ඉහළින් දක්නට ලැබෙන්නේ වළාකුළුය. එසේනම් එහි සඳහන් පළමු තරංග වර්ගය කුමක්ද? ඒවානම් "විවිධාකාරයේ ඝනත්වයන්ගෙන් යුත් ස්ථර තුළ ඝනත්ව අන්තර් මුහුණත්වල ඇතිවන"[1] අභ්‍යන්තර තරංගයි. මේවා පවතින බව මෑතකදී විද්‍යාඥයන් විසින් සොයාගෙන ඇත. (16 වන රූපය බලන්න).




16 රූපය
එකිනෙකට වෙනස් ඝනත්වයකින් යුතු ජල ස්ථර දෙකක් අතර පවතින අන්තර් මුහුණතෙහි දක්නට ලැබෙන අභ්‍යන්තර තරංග. ඉහත රූපයෙහි එක් ස්ථරයක් (පහත ස්ථරය) ඝනත්වයෙන් වැඩිය. අනෙක් ස්ථරය (ඉහළ ස්ථරය) ඝනත්වයෙන් අඩුය'(Oceanography, Gross, පිටුව. 204.)

(1) Oceanography, Gross, පිටුව 205

ගැඹුරු ජලයෙහි ඝනත්වය, එයට ඉහළින් ඇති ජලයෙහි ඝනත්වයට වඩා වැඩි බැවින් මුහුදු හා සාගරවල ඇති ගැඹුරු ජලය, අභ්‍යන්තර තරංග වලින් ආවරණය වී පවතියි. අභ්‍යන්තර තරංගද මතුපිට තරංග ලෙසම ක්‍රියා කරයි. මතුපිට තරංග (රළ) බිඳෙන ආකාරයටම අභ්‍යන්තර තරංග වලටද බිඳීමේ හැකියාව ඇත. පියවි මිනිස් ඇසකින් තරංග දැකගැනීමේ හැකියාවක් නොමැත. ඒවා හඳුනාගත හැක්කේ දෙන ලද කිසියම් ස්ථානයක පවතින උෂ්ණත්ව වල හෝ ලවණතාවයන්ගේ වෙනස්කම් අධ්‍යයනය කිරීම මඟිනි.[1]

## G. වලාකුළු පිළිබඳව අල් කුර්ආනයෙන්

විද්‍යාඥයින් විසින් වලාකුළු වර්ග අධ්‍යයනය කිරීම තුළින් වැසි වළාකුළු ඇතිවන්නෙත් ඒවායේ හැඩය තීරණය වන්නෙත්, කිසියම් සුළං වර්ග හා වළාකුළු වර්ග සමග සම්බන්ද වූ විශේෂිත පියවර වලින් හා විශේෂිතවූ පිළිවෙලකට බව සොයාගෙන ඇත.

Cumulonimbus නොහොත් කැටි වලාකුළු යනු එක්තරා වැසි වලාකුළු වර්ගයකි. කාලගුණ විද්‍යාඥයින් විසින් මෙම වලාකුළු ඇතිවන්නේ කෙසේද? ඒවා මඟින් වැසි, සුළං හා විදුලි කෙටීම් ඇතිවන්නේ කෙසේද? යනාදිය පිළිබඳව අධ්‍යයන සිදුකොට ඇත. එම අධ්‍යයන මඟින් ඔවුන් වර්ෂාව ඇති වීම සඳහා කැටි වැහි වලාකුළු පහත පියවරවල් පසුකළ යුතු බව සොයාගන්නා ලදී.

1). සුළඟ මඟින් වලාකුළු තල්ලුවීමට ලක්වීම.

සුළඟ මඟින් කිසියම් වර්ගයක කුඩා වලාකුළු කොටස් Cumulus Clouds නොහොත් කැටි වලාකුළු ඒකරාශීවන ප්‍රදේශයක් කරා තල්ලු කිරීම හේතුකොට ගෙන, කැටි වැහි වලාකුළු ඇති වීමට පටන් ගනියි. (17 හා 18 රූප සටහන් බලන්න)




17 රූපය
වලාකුළු ඒකරාශීවන B C හා D ප්‍රදේශ කරා තල්ලුවන වලාකුළු දැක්වෙන චන්ද්‍රිකා ඡායාරූපයකි මේ. මෙහි ඇති ඊතළ සටහන් මඟින් සුළඟෙහි දිශාව පෙන්වයි. (The Use of Satellite Pictures in Weather Analysis and Forecasting, Anderson and others, පිටුව 188.)

(1) Oceanography, Gross, පිටුව 205



18 රූපය
ක්ෂිතිජය ආසන්නයේ පිහිටි වලාකුළු ඒ'කරාශී වන ප්‍රදේශයක් කරා පාවීයන කුඩා වලාකුළු කොටස් (කැටි වලාකුළු) විශාල සංඛ්‍යාවක් මෙහි දැක්වේ. (Clouds and Storms, Ludlam, plate 7.4.)

2). එකිනෙක එකතු වීම.

ඉන්පසු එම කුඩා වලාකුළු එකට එකතු වී විශාල වලාකුළක් සෑදෙයි.[1] (18 හා 19 රූප සටහන් බලන්න)




19 රූපය
A) එකිනෙක වෙන්ව පවතින කුඩා වලාකුළු කොටස් (කැටි වලාකුළු)
B) කුඩා වලාකුළු කොටස් එකට එක්වන විට සෑදෙන විශාල වලාකුළ තුළ ඉහලට තෙරපීමේ බලය වැඩි බැවින් එම වලාකුළ ක්‍රමයෙන් ඉහළට එකමත එකක් ලෙස ගොඩගැසෙයි. මෙම රූපයෙහි තිත් සළකුණු මඟින් ජල බිංදු පෙන්නුම් කෙරේ (The Atmosphere, Anthes and others, පිටුව. 269.)

---

(1) බලන්න The Atmosphere, Anthes and others, පිටුව. 268-269, සහ Elements of Meteorology, Miller and Thompson, පිටුව 141.

3).එකමත එක ගොඩගැසීම

කුඩා වලාකුළු එකිනෙක එකතුවී සෑදෙන එම විශාල වලාකුළ තුළ ඉහළට ඇති කෙරෙන තෙරපීම වර්ධනය වෙයි. වලාකුළෙහි පිටත ප්‍රදේශවලට වඩා මධ්‍යට ආසන්න ප්‍රදේශයෙහි මෙලෙස ඉහළට තල්ලු වීමේ බලය අධිකය.[1] මෙම ඉහළට තල්ලු වීමේ බලය නිසා වලාකුළු එකමත එක ගොඩ ගැසීමෙන් එම වලාකුළු සිරස් අතට වර්ධනය වීමට පටන්ගනී. (19 (B), 20 හා 21 රූප සටහන බලන්න) මෙලෙස වලාකුළෙහි සිදුවන සිරස් වර්ධනය හේතු කොට ගෙන එම වලාකුළුවලට වායුගෝලයේ වඩාත් සිසිල් ප්‍රදේශ කරා දික්වීමේ අවස්ථාව ලැබෙයි. වැසි බිංදු හා හිම කැට ඇති වීමත්, ඒවායෙහි ප්‍රමාණය ක්‍රම ක්‍රමයෙන් විශාල වීමත් සිදුවන්නේ මෙම ප්‍රදේශයේදීය. එම ජල බිංදු හා හිම කැට ඒවා දරා සිටින උඩුකුරු තෙරපුමට වඩා බරින් වැඩිවන විට ඒවා වලාකුළුවල සිට වර්ෂාව හෝ හිමකැට වැසි ලෙස වැටීමට පටන් ගනී.[2]




20 රූපය
කැටි වලාකුළකි මේ. මෙම වලාකුළ ඉහළට එකමත එක ගොඩ ගැසීමෙන් පසුව එම වලාකුළෙන් වර්ෂාව ඇද හැලෙයි. (Weather and Climate, Bodin, පිටුව.123.)

දෙවියන්වහන්සේ අල් කුර්ආනයෙහි මෙසේ පවසයි.

> *නියතවශයෙන්ම දෙවියන්වහන්සේ වලාකුළු සෙමින් පාවී යාමට සලසවන බවද පසුව ඒවායේ කැබලි එකට අමුණා අනතුරුව එය ඝන වලාකුළු ගොඩක් බවට පත්කරන බව නුඹ නොදකින්නෙහිද? එවිට එය අතරින් වැසි වැටෙන්නේ යැයි නුඹ දකින්නේය........*
> *(අල් කුර්ආනය 24:43)*

වලාකුළුවල සම්භවය එහි ව්‍යුහය සහ කාර්යභාරය පිළිබඳව තොරතුරු දැන ගැනීමට කාලගුණ විද්‍යාඥයන්ට හැකිවූයේ මෑතකදීය. ඒ සඳහා ගුවන්යානා, චන්ද්‍රිකා, පරිගණක, බැලූන සහ අනෙකුත් දියුණු උපකරණ භාවිතා කිරීමට සිදුවිය.

(1) වලාකුළෙහි මධ්‍යට ආසන්න ප්‍රදේශයේ ඉහළට ඇති තෙරපුම අධිකය. එයට හේතුව එම ප්‍රදේශ වලාකුළෙහි පිටත කොටස් මගින් සිසිල් වීමේ ක්‍රියාවලියන්ගෙන් ආරක්ෂා කිරීමයි.

(2) බලන්න The Atmosphere, Anthes and others , පිටුව. 269, and Elements of Meteorology, Miller and Thompson, පිටුව.. 141-142.



21 රූපය
කැටි වැහි වලාකුළකි මේ. (A Colour Guide to Clouds, Scorer and Wexler, පිටුව 23.)

එහිදී, සුළඟ පිළිබඳව හා එහි දිශාවන් පිළිබඳව අධ්‍යයනය කිරීම සඳහාත් වායුගෝලීය පීඩන හා ඒවායේ වෙනස් වීම් නිර්ණය කිරීම සඳහාත් මෙම උපකරණ යොදා ගන්නා ලදී.[1]

වලාකුළු හා වර්ෂාව පිළිබඳව සඳහන් කිරීමෙන් පසුව පහත වාක්‍ය මඟින් හිම කැට සහ විදුලි කෙටීම් පිළිබඳවද සඳහන් කරයි.

> ﴾ *.......තවද අහසහි කඳුවලින් ( වලාකුළු ) පහතට හිම කැට පහළ කරන්නේය. තමාට අභිමත අයට එයින් පහර දෙන්නේය. ඔහු තමාට අභිමත අයගෙන් එය වළක්වන්නේය. තවද එම විදුලි එළිය ඇස් නිලංකාර කරනු ඇත.* ﴿ *(අල් කුර්ආනය 24:43)*

හිම කැට ඇති කරන මෙම කැටි වැහි වලාකුළු කඳු ආකාරයට අඩි 25,000 සිට 30,000 දක්වා (සැතපුම් 4.7 සිට 5.7 ක් දක්වා)[2] වූ උසකට නැගෙන බව කාලගුණ විද්‍යාඥයන් සොයාගෙන ඇත. ඒ පිළිබඳව අල් කුර්ආනයෙහි .......***තවද අහසහි කඳුවලින් ( වලාකුළු ) පහතට ගල් වැසි පහළ කරන්නේය.*** ලෙස සඳහන් කෙරෙයි. (21 රූප සටහන බලන්න)

---

(1) බලන්න Ee’jaz al-Qur’an al-Kareem fee Wasf Anwa’ al-Riyah, al-Sohob, al-Matar, Makky and others , පිටුව 55

(2) Elements of Meteorology, Miller and Thompson, පිටුව.. 141.

ඉහත පරිච්ඡේදය මඟින් අප තුළ ප්‍රශ්ණයක් මතු කරයි. හිම කැට වැසි සලකා බලන විට එහි "විදුළි කෙටීම" ලෙස මෙම පරිච්ඡේදයේ සඳහන් වන්නේ ඇයි? මෙයින් පැහැදිළි වන්නේ විදුළි කෙටීම ඇතිවීම සඳහා බලපාන ප්‍රධාන සාධකය හිම කැට බවද? Meteorology Today නම් ග්‍රන්ථයෙහි මේ පිළිබඳව කුමක් සඳහන් වී ඇත් දැයි බලමු. වලාකුළු වල ඇති අධි ශීතලට ලක් වූ ජල අංශු හා අයිස් ස්ඵටික සහිත එක්තරා ප්‍රදේශයක් හරහා හිම කැට පතනය වන විට වලාකුළු විද්‍යුත් ආරෝපනයට ලක්වෙයි. ජල බිඳිති හිම කැට සමග ගැටෙන විට එම ජල අංශු ගුප්ත තාපය පිට කරමින් මිදීමට ලක්වෙයි. මෙම තාපය මඟින් එම හිම කැටයෙහි මතු පිට පෘෂ්ඨයෙහි උණුසුම එය වටා පවතින අයිස් ස්ඵටිකයක් හා ස්පර්ශ වන විට ඉතාමත් වැදගත් දෙයක් සිදුවෙයි. සිසිල් වස්තුවක සිට උණුසුම් වස්තුවක් කරා ඉලෙක්ට්‍රෝන ගමන් කිරීම සිදුවෙයි. එම නිසා හිම කැටය ඍන ලෙස ආරෝපනය වෙයි. අධික ලෙස සිසිල් වූ ජල බිඳිති හිම කැටයක් සමග ස්පර්ශ වන විටද ඉහත සිදුවීම සිදුවන අතර මෙහිදී ධන ලෙස ආරෝපනය වූ ඉතා කුඩා අයිස් පතුරු කැඩී විසිරෙයි. බරින් ඉතාමත් සැහැල්ලු වන ධන ආරෝපිත මෙම කුඩා අයිස් පතුරු වලාකුළෙහි ඉහළට ඇති කරන තෙරපුම හේතු කොට ගෙන වලාකුළෙහි ඉහළ කොටස කරා ගමන් කරයි. ඍන ලෙස ආරෝපනය වී පවතින හිම කැට වලාකුළෙහි පහළ කොටස කරා ගමන් කරන අතර එමඟින් වලාකුළෙහි පහළ කොටස ඍන ලෙස ආරෝපනය වෙයි. මෙම ඍන ආරෝපනයන් විදුලි කෙටීම ලෙස ඉවත්ව යයි. එබැවින් හිම කැට යනු විදුලි කෙටීම ඇති වීම සඳහා අවශ්‍යවන ප්‍රධාන සාධකය බව මේ මඟින් අපහට නිගමනය කළ හැක. [1]

විදුලි කෙටීම පිළිබඳව මෙම තොරතුරු සොයා ගන්නා ලද්දේ මෑත කාලයේදීය. ක්‍රි.ව. 1600 වන තුරු කාලගුණ විද්‍යාව පිළිබඳව ප්‍රධාන වශයෙන් පිළිගැණුනේ ඇරිස්ටෝටල්ගේ අදහස්ය. වායුගෝලය සමන්විත වන්නේ තෙත් සහ වියළි යන වර්ග දෙකක වාතයන්ගෙන් වන අතර එලෙස පවතින වියළි වාතය අසල පිහිටි වලාකුළක ගැටෙන ශබ්දය අහස ගෙරවීමේ හඬ වන අතර විදුලිය කෙටීම යනු එම වියළි වාතය ඉතාමත් තුනී දැල්ලක් සහිතව ගිනිගෙන දැවෙන බව එකළ පිළිගැනුනි.[2] මෙම අදහස් දැනට සියවස් දහ හතරකට පෙර අල් කුර්ආනය පහළ වන කාලයේ කාලගුණ විද්‍යාවෙහි මූලික ලෙස පිළිගැණුන අදහස් වලින් සමහරකි.



(1) Meteorology Today, Ahrens, පිටුව. 437.

(2) The Works of Aristotle Translated into English: Meteorologica, vol. 3, Ross and others, පිටුව 369a-369b.

## H. අල් කුර්ආනයෙහි සඳහන්වන විද්‍යාත්මක ප්‍රාතිහාර්යයන් පිළිබඳව විද්‍යාඥයන්ගේ අදහස්

අල් කුර්ආනයෙහි සඳහන්වන විද්‍යාත්මක ප්‍රාතිහාර්යයන් පිළිබඳව විද්‍යාඥයන්ගේ අදහස් සමහරක් පහත සඳහන් වෙයි. මෙම සියළුම අදහස් උපුටා ගෙන ඇත්තේ This is the Truth (සත්‍යය මෙයයි) නමැති වීඩියෝ පටයෙනි. මෙම වීඩියෝ පටයෙහි එම විද්‍යාඥයන් පහත සඳහන් කර ඇති ඔවුන්ගේ අදහස් ප්‍රකාශ කරන ආකාරය, දැකීමටත්, එය ඇසීමටත් ඔබට පුළුවන. (මෙම වීඩියෝ පටයෙහි පිටපතක් ලබා ගැනිම සඳහා කරුණාකර www.islam-guide.com/truth වෙබ් අඩවියට පිවිසෙන්න).

1) ආචාර්ය ටි. වි. එන්. පර්සෝඩ් (T. V. N. Persaud) යනු කැනඩාවේ විනිපෙග්හි මැනි ටෝබා විශ්ව විද්‍යාලයෙහි කායව්‍යවච්ඡේදය පිළිබඳව මහාචාර්යවරයෙකුද ළමා රෝග හා ළමා සෞඛ්‍යය පිළිබඳව මහාචාර්‍යවරයෙකුද ප්‍රසව හා නාරිවේදය ප්‍රජනන සෞඛ්‍ය පිළිබඳව මහාචාර්යවරයෙකුද වෙයි. ඔහු එම විශ්ව විද්‍යාලයෙහි කායව්‍යවච්ඡේදය අංශයෙහි වසර 16ක් මහාචාර්යවරයෙකු ලෙස කටයුතු කොට ඇත. එම ක්ෂේත්‍රයෙහි ඔහු ඉතාමත් ප්‍රසිද්ධ අයෙකි. ඔහු ග්‍රන්ථ 22ක කතෘවරයෙකු වන අතරම ඔහු විද්‍යාත්මක පත්‍රිකා (Scientific papers) 181 කට වඩා වැඩි ප්‍රමාණයක් ප්‍රකාශයට පත්කොට ඇත. 1991 වසරෙහි ඔහු කැනේඩියානු කායව්‍යවච්ඡේදවේදීන්ගේ සංගමය මඟින් පිරිනමනු ලබන කැනඩාවෙහි කායව්‍යච්ඡේද අංශයේ ඉතාමත්ම සම්භාවනීය සම්මානය වන J. C. B. Grant Award නම් සම්මානයෙන්ද පිදුම් ලැබීය. ඔහු විසින් පර්යේෂණ පවත්වන ලද දෑ පිළිබඳව අල් කුර්ආනයෙහි සඳහන් විද්‍යාත්මක ප්‍රාතිහාර්යයන් අළලා ඔහුගෙන් ප්‍රශ්න කළ විට ඔහු තම අදහස් ප්‍රකාශ කළේ මෙසේය.

" මට දැනෙන ආකාරයට නම් මුහම්මද් ﷺ කියන්නේ සාමාන්‍ය මිනිසෙක්. ඔහු ලිවිමටවත් කියවීමටත් නොදන්නා කෙනෙක් එනම් අක්ෂර ඥානය නොමැති කෙනෙක්. එසේම අප කතා කරන එම කාල වකවානුවත් දැනට ශතවර්ෂ දොළහකට (සැබැවින්ම ගතහොත් ශතවර්ෂ දහහතරකට) ඉහත කාල වාකවානුවයි. මෙහිදී අක්ෂර ඥානය පවා නොමැති යමෙකු විසින් විද්‍යාත්මක අතින් ඉතාමත් නිවැරදි හා ඉතාමත් ගැඹුරු අර්ථයන් සහිත අදහස් හා ප්‍රකාශයන් ඉදිරිපත් කොට තිබෙනවා. මෙය නිකම්ම අහඹු සිදුවිමක් බව මට නම් කෙසේවත් හිතන්න බැහැ. ඒවායෙහි බොහෝ නිවැරදිතාවයන් තිබෙනවා. ඔහුට මෙම ප්‍රකාශයන් සිදුකිරීමට පොළඹවන ලද්දේ කිසියම් දිව්‍යමය ඥානයක් හෝ එවැනි දිව්‍යමය හෙළිකිරීමටක් මඟින් බව සිතීමට ආචාර්ය මුවර්ට සේම මටද කිසිදු අපහසුවක් නැහැ."

මහාචාර්ය පර්සෝඩ් ඔහුගේ ග්‍රන්ථ සමහරක අල් කුර්ආන් පරිච්ඡේදයන් සේම වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ ප්‍රකාශයන්ද ඇතුළත් කොට තිබේ. එසේම ඔහු සම්මේලන සමහරකදී ද මෙම කුර්ආන් පරිච්ඡේදයන් සහ වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ ප්‍රකාශයන් ඉදිරිපත් කොට ඇත.

2) ආචාර්ය ජෝ ලී සිම්ප්සන් (Dr. Joe Leigh Simpson) යනු ඇමරිකා එක්සත් ජනපදයේ ටෙක්සාස්, හුස්ටන්හි බේලර් වෛද්‍ය විද්‍යාලයෙහි ප්‍රසව හා නාරිවේද දෙපාර්තමේන්තුවේ සභාපතිවරයාය. එසේම ඔහු ප්‍රසව හා නාරිවේදය පිළිබඳව මහාචාර්යවරයෙකුද, අණුක සහ මානව ජාන විද්‍යාව පිළිබඳව මහාචාර්යවරයෙකුද වෙයි. මෙයට ඉහතදී ඔහු ඇමරිකාවේ මෙම්ෆිස්හි ටෙනෙසී විශ්ව විද්‍යාලයේ ප්‍රසව හා නාරිවේද දෙපාර්තමේන්තුවේ සභාපති ලෙසත් ප්‍රසව හා නාරිවේදය පිළිබඳ මහාචාර්ය වරයෙකු ලෙසත් කටයුතු කර ඇත. එසේම ඔහු ඇමරිකානු සඵලතාවය පිළිබඳව සංගමයේ (Fertility Society) සභාපති ලෙසද කටයුතු කොට ඇත. එසේම ඔහු 1992 වර්ෂය සඳහාවූ Association of professors of Obstetrics and Gynecology Public Recognition Award නම් සම්මානය ඇතුළු සම්මාන ගණනාවකින් පිදුම් ලබුවෙකි. මහාචාර්ය සිම්ප්සන් වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ පහත සඳහන් වන ප්‍රකාශයන් දෙක අධ්‍යයනයට ලක් කර ඇත.

{ඔබ සියළු දෙනාගේම සියළුම අවයවයන් නිර්මාණය කිරීම, දින හතලිය වන විටදී ඔබගේ මවගේ ගර්භාෂය තුළදී එකට එකතු කරනු ලැබේ}.[1]

{කළලයට රාත්‍රීන් හතලිස් දෙකක් ඉකුත් වන විටදී දෙවියන් විසින් එය කරා සුරදූතයෙකු එවනු ලබන අතර ඔහු විසින් එයට නියමිත හැඩයන් ලබා දෙමින් එහි ඇසීම, පෙනීම, සම, මාංශ හා අස්ථීන් නිර්මාණය කරනු ලැබේ.}. [2]

ඔහු ඉහත සඳහන් වන වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ ප්‍රකාශයන් දෙක ඉතාමත් ගැඹුරින් අධ්‍යයනය කළ අතර කළල ජනනයෙහි පළමු දින හතළිය එහි ඉතාමත් පැහැදිලි හා වැදගත් කාලපර්ච්ඡේදය බවද අවධානයට ලක් කරන ලදි. මෙහිදී ඔහු වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ ඉහත සඳහන් වන ප්‍රකාශයන්හි තිබුන සාතිශය නිරවද්‍යතාවය පිළිබඳව ඉතාමත් පුදුමයට පත්විය. ඉන්පසුව එක් සම්මේලනයකදී ඔහු පහත අදහස් පළකරන ලදි.

---

01) සහීහ් මුස්ලිම් ඃ 2643 හා සහීහ් අල් බුහාරි # 3208 හි සඳහන්ව ඇත. මෙම ග්‍රන්ථයෙහි {} මෙම විශේෂිත වරහන් තුළ සටහන් කොට ඇත්තේ වක්තෘ මුහම්මද් තුමාණන් ප්‍රකාශ කළ දෑ වල පරිවර්ථනයකි. එසේම අධෝ ලිපිවල # සංඛේතය යොදා ඇත්තේ හදීසයෙහි අංකය සඳහන් කිරීමටයි. හදීස් යනු වක්තෘ මුහම්මද් තුමාණන්ගේ අනුගාමිකයන් විසින් එතුමාණන්ගේ ක්‍රියාවන්, ප්‍රකාශයන් හා අනුමත කළ දෑ පිළිබඳව විශ්වාසනීය ලෙස දැනුම් දුන් තොරතුරු වාර්තාය.

02) සහීහ් මුස්ලිම්හි ඃ 2645 හි සඳහන්ව ඇත.

"මෙම හදීස් ( වක්තෘ මුහම්මද් ﷺ තුමා විසින් පවසන ලද දේවල්) දෙක මඟින් දින හතලිහකට පෙර සිදුවන ප්‍රධාන කළල විකසන පිළිබඳව විශේෂිත කාල සටහනක් අප හට ලබාදෙනවා. එසේම, මා සිතන ආකාරයට මා පවසන මෙම කරුණ අනෙකුත් කථිකයන් විසින්ද අද උද්ඝසන නැවත නැවත ප්‍රකාශයට පත් කළා. එනම් මෙම හදීසයන් ඒවා ලියන කාලයෙහි තිබුණ විද්‍යාත්මක දැනුම සොයාගෙන ලියන ලද ඒවා විය නොහැකි බවයි. එසේම, මා සිතන්නේ ජාන විද්‍යාව හා ධර්මය අතර ගැටීමක් නොමැත. ඇත්තෙන්ම පරම්පරික විද්‍යාත්මක ප්‍රවේශයන් සමග ධර්මයට දෙවියන් විසින් හෙළිදරවු කළ දෑ එක්කිරීම මඟින් එම ධර්මයට විද්‍යාව කෙරෙහි මගපෙන්වීමක් කළ හැකියි. මෙසේ, අල් කුර්ආනයෙහි පවතින ප්‍රකාශයන් වල සත්‍යතාවය එය පහළ වී ශතවර්ෂ ගණනාවකට පසුව අදටත් ඒවා වලංගු වේ. එතුළින් අල් කුර්ආනයෙහි අන්තර්ගත දැණුම් සම්භාරයෙහි මූල ප්‍රභවය දෙවියන් බව අප හට එත්තු ගන්වනවා"

3) ආචාර්ය ඊ මාෂල් ජොන්සන් (Dr. E. Mashall Johnson) යනු ඇමරිකාවේ පෙන්සිල්වේනියාහි ෆිලඩෙල්ෆියා වල පිහිටි තෝමස් ජෙෆර්සන් විශ්ව විද්‍යාලයේ කායව්‍යවච්ඡේදය හා විකසන ජීව විද්‍යාව පිළිබඳව මහාචාර්ය එමරිටස් වරයෙකි. වසර 22ක් පුරා ඔහු එහි මහාචාර්ය ධූරයෙහි කටයුතු කළ අතරම කායව්‍යවච්ඡේද දෙපාර්තමේන්තුවෙහි සභාපති ධූරයද, ඩැනියල් බෝග් ආයතනයෙහි අධ්‍යක්ෂ ධූරයද හෙබවිය. එසේම ඔහු විරූප විද්‍යා (Teratology) සංගමයෙහිද සභාපති ලෙස කටයුතු කරන ලදී. ඔහු ප්‍රකාශන 200කට වැඩි ගණනක කතෘවරයෙකුද වෙයි. 1981 දි සෞදි ආරබියෙහි දමාම්වල පැවති හත්වන වෛද්‍ය සම්මේලනයේදී ඔහුගේ පර්යේෂණ වාර්තාව ඉදිරිපත් කරමින් ඔහු මෙසේ පැවසිය:

"සාරංශය : අල් කුර්ආනය මඟින් බාහිර රූපකාරවල විකසනය පිළිබඳව පමණක් නොව, අභ්‍යන්තර අවධීන් පිළිබඳවද අවධාරණය කරයි. එනම්, වර්තමාන විද්‍යාව මඟින් හඳුනාගත් කළලය තුල ඇති විවිධ අවධීන් පිළිබඳවද, එහි නිර්මාණය හා විකසනය පිළිබඳවද අවධාරණය කරයි

එසේම, ඔහු තවදුරටත් පැවසුවේ " විද්‍යාඥයෙකු ලෙස, මා හට ක්‍රියාකල හැක්කේ මා නිශ්චිත වශයෙන්ම දකින දේවල් සමග පමණයි. මා හට කළල විද්‍යාව හා විකසන ජීව විද්‍යාව පිළිබඳව තේරුම් ගැනීමට පුළුවනි. මා හට පරිවර්ථනය කොට පෙන්වන ලද අල්කුර්ආන් වාක්‍යයන්ද මා හට තේරුම් ගැනීමට පුළුවනි. මා මෙයට පෙර උදාහරණයක් ඉදිරිපත් කළාසේම, මා මෙම වර්තමානයේ සිදුවන දේවල් එම යුගයට ගොස් ඒවා විස්තර කිරීමට හැකියාවක් තිබුණත් මා හට එම විස්තර කොට තිබෙන දේවල් විස්තර කිරීමේ හැකියාවක් නම් නොමැති වේවි. එබැවින්, මුහම්මද් ﷺ නැමැති මෙම පුද්ගලයාහට මෙම තොරතුරු යම් ස්ථානයකින් හෙළිදව් වූ බවට පවතින සංකල්පය වැරදි බව පැවසීම සඳහා සාදක කිසිවක් මාහට දකින්නට නැහැ. එබැවින්, ඔහු හට ලිවීමට හැකිවූ දේවල් සඳහා කිසියම් දිව්‍යමය මැදිහත් වීමක් හේතුවූ බවට පවතින සංකල්පයට එරෙහි වීමට තරම් කිසිවක් මාහට දකින්නට නැහැ."[1]

---

01) වක්තෘ මුහම්මද් තුමාණන් අක්ෂර ඥාණයෙන් තොරය.එතුමාට ලිවීමට හෝ කියවීමට නොහැක නමුත් එතුමා තම අනුගාමිකයන්ට අල් කුර්ආනය කටපාඩමින් කියා පෙන්වමින් ඔහුගෙන් සමහරකුට එය සටහන් කර ගන්නා ලෙස අණ කරන ලදී.

4) ආචාර්ය විලියම් වයි හේ (Dr. William W. Hay) යනු සුප්‍රසිද්ධ සමුද්‍ර විද්‍යාඥයෙකි. ඔහු ඇමරිකාවේ කොළරාඩෝ, බෝල්ඩර්හි කොළරාඩෝ විශ්ව විද්‍යාලයේ භූ විද්‍යාවන් පිළිබඳව මහාචාර්ය වරයෙකි. ඔහු මෙයට පෙර ඇමරිකාවේ ෆ්ලෝරීඩා, මියාමිහි පිහිටි මියාමි විශ්ව විද්‍යාලයේ සමුද්‍ර සහ වායුගෝල විද්‍යාව පිළිබඳව වූ රොසෙන්ස්ටයිල් විද්‍යාලයේ පීඨාධිපති ධූරයේද කටයුතු කොට ඇත. සාගර පිළිබඳව මෑතකදී සොයා ගන්නා ලද තොරතුරු පිළිබඳව අල් කුර්ආනයේ සඳහන් දෑ පිළිබඳව මහාචාර්ය හේ සමග සිදුකරන ලද සාකච්ඡාවෙන් පසු ඔහු පැවසුවේ,

"ශුද්ධ වූ කුර්ආනය වැනි ඉපැරණි ධර්ම ග්‍රන්ථයක මෙවැනි වූ ආකාරයේ තොරතුරු සඳහන්වීම මා හට නම් ඉතාමත් සිත්ගන්නා සුළුයි. එසේම එම තොරතුරු කොහේ සිට ලැබුණ ඒවා වියහැකිදැයි මට නම් සිතා ගන්නට බැහැ. මෙහි සමහර පරිච්ඡේදවල අර්ථයට අදාළ වූ තොරතුරු සොයාගැනිමේ වැඩකටයුතු ක්‍රියාත්මක වෙමින් පවතින විටදිත් ඒවා අල් කුර්ආනයෙහි සඳහන් වී තිබීම ඉතාමත්ම සිත්ගන්නා සුළු දෙයක් බවයි මම සිතන්නේ"

එසේම, ඔහුගෙන් අල් කුර්ආනයෙහි ප්‍රභවය පිළිබඳව විමසීමක් කළවිට ඔහු පැවසුවේ, "ඇත්තෙන්ම, මම නම් සිතන්නේ එය දෙවියන්ගේම විය යුතු බවයි"

5) ආචාර්ය ජෙරාල්ඩ් සී. ගෝරිංගර් (Dr. Gerald C. Goeringer) ඇමරිකාවේ වොෂිංටන්හි ජෝර්ජ් ටවුන් විශ්ව විද්‍යාලයේ වෛද්‍ය විද්‍යාලයෙහි සෛල ජීව විද්‍යා දෙපාර්තමේන්තුවේ කළල වෛද්‍ය විද්‍යාව පිළිබඳව මහාචාර්යවරයෙකු සේම පාඨමාලා අධ්‍යක්ෂකවරයා ලෙසද කටයුතු කරයි. සෞදි ආරාබියේ රියාද්හි පැවති අටවන සෞදි වෛද්‍ය සම්මේලනය යේදී ඔහුගේ පර්යේෂණ වාර්තාව ඉදිරිපත් කරන අතරතුරදී මහාචාර්ය ගෝරිංගර් පහත දැ ප්‍රකාශ කරන ලදි.

"ජන්මානු සංයෝජනය වීමේ සිට අංගජනනය දක්වාවූ මානව විකසනය පිළබඳව ඉතාමත් පෘථුල විස්තරයක් සාපේක්ෂව ඉතාමත් අඩු වාක්‍යයන් (අල්කුර්ආන් වාක්‍යයන්) ගණනක අඩංගුව පවතියි. වර්ගීකරණයන්, ඒ සඳහා වූ පාරිභාෂික ශබ්ද මාලාව හා විස්තර කිරීම් වැනිවූ මානව විකසනය පිළිබඳව වන සම්පූර්ණ සහ පැහැදිලි සටහනක් මෙයට පෙර තිබී නොමැත. එම සියළුම, එසේත් නොමැති නම් සාම්ප්‍රදායික විද්‍යාත්මක ලිපි ලේඛන වල මානව කළල හා භ්‍රෑණ විකසනයෙහි විවිධ අවස්ථාවන් පිළිබඳව සඳහන් විමට ශතවර්ෂ ගණනාවකට කලින්ම මෙහි විස්තර කිරීම් සිදුවී තිබෙනවා.

6) ආචාර්ය යොෂිහිදේ කොසෙයි (Dr. Yoshihide Kozai) ජපානයේ, ටෝකියෝ, හොංකොංහි ටෝකියෝ විශ්ව විද්‍යාලයේ මහාචාර්ය එමරිටස් වරයෙකි. එසේම ඔහු ජපානයේ ටෝකියෝ, මිටකාහි ජාතික ග්‍රහලෝක නිරීක්ෂණාගාරයෙහි අධ්‍යක්ෂකවරයා ලෙසද කටයුතු කර තිබෙයි. ඔහු පවසන ආකාරයට:

"තාරකා විද්‍යාව පිළිබඳව තොරතුරු කුරානයෙහි දැකීම මට ඉතාමත් පුදුම සහගතයි. එසේම, වර්තමාන තාරකා විද්‍යාඥයන් අධ්‍යයනය කරමින් සිටින්නේ විශ්වයේ ඉතාමත් සුළු කොටස් පිළිබඳවයි. අප අපගේ ශ්‍රමය පූර්ණ ලෙස යොදවා ඇත්තේ විශ්වයේ ඉතාමත්ම කුඩා කොටසක් පිළිබඳව තේරුම් ගැනීම සඳහායි.

එනමි, දුරේක්ෂයන් යොදාගෙන අප හට නිරීක්ෂණය කළ හැක්කේ විශ්වයේ ඉතාමත්ම සුළු කොටසක් පමණයි. මුළු විශ්වයම ගැන සිතන්නට බැහැ. එම නිසා, අල් කුර්ආනය කියවීම මගිනුත්, ප්‍රශ්න වලට පිළිතුරු සැපයීම තුළිනුත්, මා සිතන්නේ, මා හට අනාගතයේ විශ්වය පිළිබඳව අධ්‍යනය කිරීම සඳහා මාර්ගය සොයා ගැනීමට හැකිවන බවයි."

7) මහාචාර්ය ටිජාටැට් ටෙජාසන් (Prof. Tejatat Tejasen) යනු තායිලන්තයේ චියං මෙහියි පිහිටි චියං මෙයි විශ්ව විද්‍යාලයේ කායව්‍යවච්ඡේද දෙපාර්තමේන්තුවේ සභාපතිවරයාය. මෙයට පෙර ඔහු එම විශ්ව විද්‍යාලයේම වෛද්‍ය පීඨයෙහි පීඨාධිපති ලෙස කටයුතු කරන ලදි. සෞදි අරාබියේ රියාද්හි පැවති අටවන වෛද්‍ය සම්මේලනයේදී මහාචාර්ය ටෙජාසන් නැගී සිට මෙලෙස පැවසිය.

"පසුගිය වසර තුන තුළදී මා අල් කුර්ආනය පිළිබඳව විමසිලිමත් විමි. මාගේ අධ්‍යය-නයන් තුලිනුත්, මෙම සම්මේලනයේදී මා දැනගත් දේවල් තුලිනුත්, දැනට වසර එක්දහස් හාරසියයකට පෙර කුරානයේ සටහන් කර තිබූ සියළු දැ සත්‍යයක් විය යුතු බවත්, ඒවා විද්‍යාත්මකව ඔප්පු කිරීමට හැකි බවත් මා විශ්වාස කරමි. වක්තෘ මුහම්මද් තුමාට ලිවීමේ හෝ කියවීමේ හැකියාව නොමැති බැවින්, මුහම්මද් ﷺ යනු බලසම්පන්න නිර්මාතෘ විසින් ඔහුට හෙළි දරව් කරන ලද සත්‍ය අප හට ප්‍රකාශ කල දූතයෙකු විය යුතුය. මෙම නිර්මාතෘවරයා දෙවියන්වහන්සේ විය යුතුය. එබැවින්, මෙය, ලා ඉලාහ ඉල්ලල්ලාහ්, අල්ලාහ් (දෙවියන්වහන්සේ) හැර නැමදීමට සුදුසු අන්කිසිවෙකු නොමැත, මුහම්මදුර් රසූලුල්ලාහ්, මුහම්මද් යනු අල්ලාහ් (දෙවියන්වහන්සේ)ගේ දූතයා (වක්තෘවරයාය) යැයි පැවසීමට සුදුසුම අවස්ථාව මෙයයි. අවසාන වශයෙන් මා මෙම සමුළුව ඉතාමත් විශිෂ්ඨ ලෙස හා ඉතාමත් සාර්ථක ලෙස සංවිධානය කිරීම පිළිබඳව මාගේ සතුට පළ කරමි........ මා මෙහිදි ලබාගත්තේ විද්‍යාත්මක දැනුම හා ආගමික දැනුම පමණක් නොවෙයි. ඉතාමත් සුප්‍රසිද්ධ විද්‍යාඥයන් බොහෝ දෙනෙකු හමුවීමේ විශිෂ්ඨ භාග්‍යයද ඔවුන් අතරින් නව මිතුරන් බොහෝ දෙනෙකු ඇති කර ගැනීමේ අවස්ථාවද මට මෙහිදී උදාවිය. මෙම ස්ථානයට පැමිණීම තුලින් මා ලබා ගත් වටිනාම දෙය වන්නේ ලා ඉලාහ ඉල්ලල්ලාහ්, මුහම්මදුර් රසූලුල්ලාහ් යන්න සහ මා මුස්ලිම් වරයෙකු බවට පත් වීමයි."

අල් කුර්ආනයෙහි සඳහන් වන විද්‍යාත්මක ප්‍රාතිහාර්යයන් පිළිබඳව මෙම උදාහරණයන් සියල්ල ගැන දැන ගැනීමෙන් පසුවත් ඒ පිළිබඳව ඉහත විද්‍යාඥයන්ගේ අදහස් දැන ගැනීමෙන් පසුවත් අපි අපගෙන්ම පහත සඳහන් ප්‍රශ්නයන් අසා බලමු.

* විවිධ ක්ෂේත්‍රයන් තුළින් ඉතාමත් මෑතකදී සොයා ගන්නා ලද විද්‍යාත්මක තොරතුරු, දැනට වසර එක්දහස් හාරසියයකට පෙර පහළ කරන ලද අල් කුර්ආනයෙහි සඳහන්ව තිබීම අහඹු සිදුවීමක් විය හැකිද?
* මෙම කුර්ආනයෙහි කර්තෘ මුහම්මද් ﷺ තුමා හෝ වෙනත් යම් මිනිසෙකු විය හැකිද?

මෙම පැනයන්ට ඇති එකම සුදුසු පිළිතුර වන්නේ, අල් කුර්ආනය යනු දෙවියන්වහන්සේගේම වදන් බවත්, එය ඔහු විසින් අනාවරණය කරන ලද්දක් යන්නත්ය.

## (2) ශුද්ධවූ අල් කුර්ආනයෙහි අඩංගු පරිච්ඡේදයන්ට සමාන වන එක් පරිච්ඡේදයක් නිර්මාණය කිරීම සඳහා පවතින විශාල අභියෝගය.

අල් කුර්ආනයෙහි දෙවියන්වහන්සේ මෙසේ පවසා ඇත:

> *﴿ අපගේ ගැත්තා ( මුහම්මද් නම් ධර්මදූතයාණන්) ට අප පහළ කළ දෑ (අල් කුර්ආනය) සම්බන්ධයෙන් (එය දෙවියන්වහන්සේ විසින් පහළ කළ බවට) නුඹලා සැකයේ සිටී නම් එවැනි පරිච්ඡේදයක් ඉදිරිපත් කරනු!. තවද නුඹලා සත්‍යවාදීහු නම්, එය (සාක්ෂාත් කරනු වස්) දෙවියන්වහන්සේ හැර නුඹලාගේ ආධාරකරුවන් කැඳවාගනු. එහෙත් නුඹලා එසේ නොකරන්නේ නම් නුඹලාට කිසි කලෙකත් එසේ කිරීමට නොපුළුවන. එබැවින් දේව විශ්වාසය නොමැති අය සඳහා පිළියෙළ කරන ලද ඉන්දන ලෙස මිනිසුන්වද, ගල්ද දවාලන ගින්නට බියවනු. (මුහම්මද්! මෙම අල් කුර්ආනය) විශ්වාස කරන්නා වූත් (ඒ අනුව) යහපත් ලෙස ක්‍රියාකරන අයට ගලා බසින ගංගාවන්ගෙන් යුතු ස්වර්ගය ඇතැයි ශුභාරංචි දන්වනු......(අල් කුර්ආනය 2:23-25)﴾*

අල් කුර්ආනයෙහි සඳහන්ව ඇති එක් පරිච්ඡේදයක් මෙන් එනම් ඒ හා සමානව අලංකාරය, ව්‍යක්තභාවය, ශ්‍රේෂ්ඨභාවය, බුද්ධිමත් නීති පැනවීම්, සත්‍ය තොරතුරු, සත්‍ය අනාවැකි සහ අඩු ලුහුඩුකම් වලින් තොරවූ අනෙකුත් ගුණාංගයන්ගෙන් සමන්විත එකම එක පරිච්ඡේදයක්වත් නිර්මාණය කිරීමට, ශත වර්ෂ දහ හතරකට පෙර කුර්ආනය පහළ කළදා සිට මේ දක්වාම කිසිවෙකුටත් නොහැකි වී තිබේ. තවද කුර්ආනයෙහි සඳහන්ව ඇති ඉතාමත් කුඩා, වචන දහයකින් පමණක් සමන්විත (108 වන) පරිච්ඡේදයක්වත් තවමත් නිර්මාණය කිරීමට හා එම අභියෝගය ජය ගැනීමට එදා සිට අද දක්වාම[1] කිසිම කිසිවෙකුටත් නොහැකි වී තිබේ.




අල් කුර්ආනයෙහි පවතින කුඩාම පරිච්ඡේදය (108 වන පරිච්ඡේදය) සමන්විත වන්නේ වචන දහයකින් පමණි. නමුත්, මේ දක්වාම කිසිඳු කෙනෙකු අල් කුර්ආනයෙහි අඩංගු පරිච්ඡේදයන්ට සමාන වූ තවත් එක් පරිච්ඡේදයක් නිර්මාණය කිරීමේ අභියෝගය ජය ගැනීමට සමත්වී නැත.

---

01) බලන්න Al-Borhan fee Oloom Al-Qur'an, Al-Zarkashy, 2 වන වෙළුම පිටුව 224

වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ සතුරන් වූ දේව විශ්වාසය නොකරන්නාවූ අරාබිවරුන් සමහරෙක් මෙම අභියෝගය ජය ගැනීමට උත්සාහ කරමින් වක්තෘ මුහම්මද් තුමාණන් සත්‍යවූ වක්තෘවරයෙකු නොවන බව ඔප්පු කිරීමට උත්සාහ කළද, ඔවුන්ගේ උත්සාහය අසාර්ථක විය[1]. මෙම උත්සාහය අසාර්ථක වුයේ කුර්ආනය ඔවුන්ගේම භාෂාව වන දේශිය භාෂාවෙන් හෙළි දරවු වී තිබියදීත් හා වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ කාලයෙහි සිටි අරාබිවරුන් අද දක්වා වර්ණනා කළ හැකි ආකාරයේ ඉතාමත් මනහර හා විශිෂ්ඨ වූ කාව්‍යයන් රචනා කිරීමේ දක්ෂයන්ව සිටියදිත් ය.

## (3) ඉස්ලාමයෙහි වක්තෘවරයාණන් වන මුහම්මද් ﷺ තුමාගේ පහළ විම පිළිබඳව බයිබලයේ සඳහන් අනාවැකි:




වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ පහළවීම පිළිබඳව බයිබලයේ සඳහන් අනාවැකීන්, බයිබලය විශ්වාස කරන පුද්ගලයන්ට ඉස්ලාමයෙහි සත්‍යතාවය සඳහා ඇති සාක්ෂින් වෙයි.

ද්විතීය නීති සංග්‍රහයෙහි 18හි දෙවියන්වහන්සේ මෝසස්ට මෙසේ පැවසු බව සඳහන් කරයි: "

> *නුඹේ සහෝදර ජනතාව අතරින් නුඹ හා සමාන දිවැසිවරයෙකු තෝරා පත්කොට, ඔහු කිය යුතු දේ ඔහුට කියා දෙන්නෙමි. ඔහුට මා අණ කරන සියල්ල ඔවුනට ඔහු දන්වනු ඇත. යමෙක් මාගේ නාමයෙන් ඔහු කියන-දේට සවන් නොදෙන්නේ නම්, මම එවැන්නෙකුට දඬුවම් කරමි." (ද්විතීය නීති සංග්‍රහය* 18 : 18 - 19) [2]

ඉහත වැකි වලින් අප නිගමනය කළ හැකි වන්නේ දෙවියන්වහන්සේ විසින් එවීමට නියමිත වක්තෘවරයාණන්,

1) මෝසස් වැනි වක්තෘවරයෙක් විය යුතු බවත්.
2) ඔහු යුදෙව්වන්ගේ සහෝදරයන් අතුරින් පැමිණිය යුතුව ඇති බවත් හා,
3) දෙවියන්වහන්සේගේ වදන් වක්තෘවරයාගේ මුවට දැමූවිට ඔහු දෙවියන්වහන්සේගේ අණ පනත් කියාපෑ යුතු බවත්ය.

මෙම කරුණු ගැඹුරින් අධ්‍යනය කර බලමු.

---

01) බලන්න Al-Borhan fee Oloom Al-Qur'an, Al-Zarkashy, 2 වන වෙළුම පිටුව 226
02) මෙම බයිබල් වාක්‍යයන් අංක 293, ගාලු පාරේ කොළඹ 03 පිහිටි ශ්‍රී ලංකා බයිබල් සංගමයෙන් ලබා ගත් සිංහල භාෂාවෙන් පරිවර්ථනය කරන ලද "තේමා පටුන සහිත ශුද්ධ බයිබලය නව අනුවාදය, තෙවන සංස්කරනයෙන් උපුටා ගත්තකි. (The Holy Bible with subject index, New Revised Sinhala Version) (New Translation – Third Edtion)

1. මෝසස් වැනි වක්තෘවරයෙක් විය යුතුය.

මෝසස් හා වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් තරම් සමානතාවයන්ගෙන් යුත් වක්තෘවරුන් දෙදෙනෙක් තවත් නොමැති තරම්ය. ඔවුන් දෙදෙනාටම ජීවිතය පිළිබඳව ඉතාමත් පෘථුල නීති සංග්‍රහයක් ලබා දී ඇත. ඔවුන් දෙදෙනාම ඔවුන්ගේ සතුරන් සමග සටන් කොට ඉතාමත් විශ්මය ජනක ආකාර වලින් ජය ලබා ඇති අතර ඔවුන් දෙදෙනාම වක්තෘවරුන් ලෙස හා උසස් දේශපාලකයන් ලෙස පිළිගැනීමට ලක්ව ඇත. ඔවුන් දෙදෙනාවම ඝාතනය කිරීමේ කුමන්ත්‍රණ වලින් පසුව ඔවුන් වෙනත් ප්‍රදේශයන්ට සංක්‍රමණය කොට ඇත. මෝසස් හා වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් අතර සමානතාවයන් අතරට ස්වභාවික උපත, පවුල් ජීවිතය හා එතුමාණන්ගේ මරණය අඩංගු වන අතර, මෝසස් හා යේසුස් ක්‍රිස්තුස්වහන්සේ අතර ඇති සමානතාවයන් ඉහත සඳහන් කරුණු මඟින් නොපෙනී යයි. එපමණක් නොව යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ අනුගාමිකයන් විසින් එතුමාව මුස්ලිම්වරුන් සිතන ආකාරයට, මුහම්මද් ﷺ හා මෝසස් නම් වූ වක්තෘවරයෙකු ලෙසන් පමණක් නොසලකා එතුමාව දෙවියන්ගේ පුත්‍රයා ලෙසද සළකන ලදි. එබැවින්, ඉහත අනාවැකිය මඟින් සඳහන් කරනුයේ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ පිළිබඳව නොව වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් පිළිබඳවයි. මක්නිසාද යත්, යේසුස් ක්‍රිස්තුස්වහන්සේට වඩා මෝසස්ට සමානතා දක්වනුයේ වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් වන බැවිනි.

එසේම, යුදෙව්වන් විසින් පැහැදිළි අනාවැකින් තුනක් සත්‍ය වනතුරු මග බලා සිටි බව ජුවාම් තුමාගේ ශුභආරංචිය (Gospel) මඟින් සඳහන්වේ. ඉන් පළමුවැන්න යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ පැමිණීමයි. දෙවැන්න වුයේ එලියාගේ පැමිණීමයි. තෙවැන්න වුයේ වක්තෘවරයාණන්ගේ පැමිණීමයි. ශුද්ධ වූ ජුවාම් තුමාට යොමුකරන ලද ප්‍රශ්න තුනෙන් මෙය ඉතාමත් පැහැදිලි වෙයි. ***"නුඹ කවරෙක් දැයි අසන පිණිස යුදෙව්වරුන් විසින් ජෙරූසලමේ සිට පූජකයන්ද ලෙවීයයන්ද යැවූ කළ, ජොහන් සාක්ෂි දෙමින්, මම ක්‍රිස්තුස්වහන්සේ නෙවෙමි යි නොසඟවාම ප්‍රකාශ කළේය. එසේ නම් කිමෙක්ද? නුඹ එලියාදැයි ඔව්හු ඇසූහ. නැතැයි ඔහු කීය. නුඹ ඒ දිවැසිවරයාද? යන ප්‍රශ්ණයටත් ඔහු නැතැයි කීය. (ශුද්ධ වූ ජුවාම් (ජොහන්) : 19 - 21)*** පැහැදිළි කිරීමේ සටහන් සහිත බයිබලයකින් අප මේ පිළිබඳව අවධානය කළහොත් එහි පැති මායිම්වල ඇති විස්තර සටහන් වල 'දිවැසිවරයා' (වක්තෘවරයාණන්) යන වචනය ශුද්ධ වූ ජුවාම් (ජොහන්) 1 : 21 හි ඇති ස්ථානයත්, ද්විතීය නීති සංග්‍රහයේ 18 : 15 හි හා 18 :18 හි සඳහන් අනාවැකි වලට සමාන වන බවත් අපහට දැකගත හැක. මේ සියළු තොරතුරු මඟින් අපට නිගමනය කරනුයේ ද්විතීය නීති සංග්‍රහයේ 18 : 18 හි අනාවැකි මඟින් අදහස් කරනුයේ ක්‍රිස්තුස්වහන්සේ පිළිබඳව නොව වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් පිළිබඳව බවයි.

2. යුදෙව්වන්ගේ සහෝදරයෙක්

ආබ්‍රහම් (ඉබ්රාහීම්) හට, ඉෂ්මයිල් හා ඊසාක් යනුවෙන් පිරිමි දරුවන් දෙදෙනෙකු වූහ. (උත්පත්ති කතාව 21) ඉෂ්මයිල් අරාබි ජාතිකයන්ගේ පරපුරෙහි පියා විය. ඊසාක් යුදෙව් ජාතිකයන්ගේ පරපුරෙහි පියා විය. සඳහන් කර ඇති වක්තෘවරයා පැවත ආ යුත්තේ යුදෙව් ජාතික පරම්පරාවෙන් නොව ඔවුන්ගේ සහෝදර පරම්පරාවෙනි (ඉෂ්මයිල් පරම්පරාව). මුහම්මද් යනු ඉෂ්මයිල් පරම්පරාවෙන් පැවතෙන්නෙකි.

තවද බයිබලයේ යොසායා 42:1-13 හි පවසන්නේ දෙවියන්වහන්සේගේ සේවකයා යනු ඔහු විසින් "තෝරාගන්නා ලද පුද්ගලයා" හා ව්‍යවස්ථාව ගෙනෙන "වක්තෘවරයා" ලෙසයි. *"සැබැවින්ම යුක්තිය ඉටු කරන්නේය. එතුමා කලකිරෙන්නෙවත්, අධෛර්ය වන්නෙවත් නැත: මිහිපිට යුක්තිය පිහිටවනතුරු එතුමාගේ දහම් මග උදාවනතුරු දිවයින් බලා සිටි ඇත. (යොසායා 42:4).*[1] තවද 11 වන වාක්‍යයේ, බලාපොරොත්තුවෙන් සිටි වක්තෘවරයා කේදර්වරුන්ගෙන් පැවතෙන්නෙක් ලෙස සඳහන් වේ. කේදර්වරුන් යනු කවරෙක්ද? උත්පත්ති කතාවේ 25:13 හි පවසන පරිදි කේදර් යනු ඉෂ්මයිලගේ දෙවන පුත්‍රයා වේ. එනම් වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ මුතුන්මිත්තාය.

3. දෙවියන්වහන්සේගේ වදන් වක්තෘවරයාගේ මුවට දැමූවිට ඔහු දෙවියන්වහන්සේගේ අණ පණත් කියාපෑ යුතුයි.

දෙවියන්වහන්සේගේ වදන් (ශුද්ධ වූ අල් කුර්ආනය) ඇත්තටම මුහම්මද් ﷺ තුමාගේ මුවගට දමන ලදී. ජිබ්රීල් සුර දූතයාගේ මාර්ගයෙන් දෙවියන්වහන්සේගේ සත්‍ය වූ වදන් (ශුද්ධ වූ අල් කුර්ආනය) මුහම්මද් ﷺ තුමාට එවූ අතර ඒවා ඇසුන අයුරින්ම ලියා ගැනීම පිණිස මිනිසුන්ට කියන ලෙසට ඔහුට අණකරන ලදී. එබැවින් එම වදන් ඔහුගේ නොවන අතර ඒවා ඔහුගේ අදහස් තුළින් ආ දේවල්ද නොවේ. ඒවා ජිබ්රීල් සුර දූතයා මඟින් ඔහුගේ මුවඟට දැමූවකි. මුහම්මද් ﷺ තුමාගේ ජීවිත කාලය පුරාවට ඔහුගේ අනුදැනුම මත මෙම වදන් ඔහුගේ අනුගාමිකයන් විසින් ලියා තැබූ අතර ඔවුන් එය වනපොත් කළහ. ද්විතීය නීති සංග්‍රහයෙහි මෙම වක්තෘත්වය පිළිබඳව දෙවිය-න්වහන්සේ මෙසේ පවසයි. *යමෙක් මාගේ නාමයෙන් ඔහු කියනදේට සවන් නොදෙන්නේ නම්, මම එවැන්නෙකුට දඬුවම් කරමි." (ද්විතීය නීති සංග්‍රහය 18 : 18 - 19)* එනම් බයිබලය විශ්වාස කරන කව්රුන් හෝ වේවා මෙම වක්තෘවරයා පවසන දෙය පිළිපැදිය යුතුයි. මෙම වක්තෘවරයා වන්නේ මුහම්මද් ﷺ තුමාය.
(බයිබලයේ සඳහන් මුහම්මද් තුමා පිළිබඳව වැඩිවිස්තර සදහා www.islam-guide.com/mib යන වෙබ් අඩවියට පිවිසෙන්න.)

## (4) අල් කුර්ආනයෙහි අනාගත සිදුවීම් පිළිබඳව සඳහන් කර ඇති වාක්‍යයන් පසු කාලීනව සැබැවින්ම සිදුවීම.

අල් කුර්ආනයෙහි අනාවැකි පළකර තිබූ එවැනි එක් සිදුවීමකි, පර්සියන්වරුන් විසින් රෝමන්වරුන් පරදවා වසර තුනක සිට නවයක් දක්වාවූ කාල සීමාවක් තුළ දී රෝමවරුන් විසින් පර්සියානුවන් ජය ගැනිම. අල් කුර්ආනයෙහි දෙවියන්වහන්සේ මෙසේ පවසා ඇත.

*﴾රෝමවරු පරාජය කරනු ලැබූහ. (අරාබි අර්ධද්වීපයට) අසල්වැසි දේශයක ඔවුහු ඔවුන්ගේ පරාජයෙන් පසු වසර (තුනකින් හෝ නවයකින්) කිහිපයකින් ඔවුහු ජයග්‍රාහි වන්නෝය. (අල් කුර්ආනය 30:2-4)﴿*

---

01 මෙම බයිබල් වාක්‍යයන් අංක 293, ගාලු පාරේ කොළඹ 03 පිහිටි ශ්‍රී ලංකා බයිබල් සංගමයෙන් ලබා ගත් සිංහල භාෂාවෙන් පරිවර්ථනය කරනලද "තේමා පටුන සහිත ශුද්ධ බයිබලය නව අනුවාදය, තෙවන සංස්කරනයෙන් උපුටා ගත්තකි. (The Holy Bible with subject index, New Revised Sinhala Version)(New Translation – Third Edtion)

දැන් අප ඉතිහාසයෙහි මෙම යුද්ධයන් පිළිබඳව පැවසෙන්නේ මොනවාදැයි බලමු. History of the Byzantine (බයිසැන්ටීන් ප්‍රාන්තයේ වෘත්තාන්තය) නම් වන ග්‍රන්ථයෙහි 613 වර්ෂයේදී රෝම හමුදාව විශාල පරාජයක් ලැබූ බව සඳහන් වන අතර මෙහි ප්‍රතිඵලයක් ලෙස පර්සියානුවන් ඉක්මනින්ම සියළු පෙරමුණු වල සිට පෙරට පැමිණ ඇත[1]. එම කාලයේදී රෝමානුවන්ට පර්සියානුවන් පරාජය කිරීමට හැකි වෙතැයි සිතීමටද නොහැකි තරම් විය. නමුත්, වසර තුනක සිට නවයක් දක්වා වූ කාල සීමාවක් තුළ රෝමානුවන් ජයග්‍රහණය කරන බව කුර්ආනයෙහි අනාවැකි පවසා තිබුණි. රෝමානුවන්ගේ පරාජයෙන් වසර නමයකට පසුව එනම් 622 වර්ෂයේදී හමුදාවන් දෙපිරිස (රෝමානුවන් හා පර්සියානුවන්) ආමේනියාවෙහිදී නැවත මුණ ගැසුන අතර එහි ප්‍රතිඵල වුයේ, 613[2] වර්ෂයේදි රෝමානුවන් පරාජයට පත්වීමෙන් පසුව පළමු වරට රෝමානුවන් පර්සියානුවන් පරදවා විශිෂ්ඨ ජයක් ලැබීමයි. දෙවියන්වහන්සේ කුර්ආනයෙහි පළකර තබූ ආකාරයටම එම අනාවැකිය සැබෑ විය.

මෙලෙස අනාගත සිදුවීම් පිළිබඳව පවසනු ලැබ පසුව සැබැවූ තවත් බොහෝ වාක්‍යයන් ශුද්ධ වු කුර්ආනයේ දක්නට ඇති අතරම වක්තෘ මුහම්මද් ﷺ තුමාද එවැනි දෑ ප්‍රකාශ කර ඇත................

## (5) මුහම්මද් ﷺ තුමා විසින් පෙන්වන ලද ප්‍රාතිහාර්යයන්

දෙවියන්වහන්සේගේ අනුමැතිය සහිතව වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් බොහෝ ප්‍රාතිහාර්යයන් සිදුකොට ඇත. මෙම ප්‍රාතිහාර්යයන් බොහෝ පිරිස් විසින් දකිනු ලැබද ඇත. උදාහරණයක් ලෙස:

* මක්කාවෙහි වාසය කළ දේව විශ්වාසය නොකරන්නන් වක්තෘ මුහම්මද් ﷺ තුමාගෙන් ඔවුනට ප්‍රාතිහාර්යයන් පෙන්වන මෙන් ඉල්ලා සිටි අවස්ථාවේදී වක්තෘ මුහම්මද් තුමාණෝ ඔවුනට සඳෙහි දෙබෑවීම පෙන්වූහ[3].

* තවත් එක් ප්‍රාතිහාර්යයක් නම්, වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ අනුගාමිකයන් සතුව ඔවුන්ගේ බඳුන්වල ඉතාමත් සුළු ජල ප්‍රමාණයක් පමණක් තිබුන අවස්ථාවේ ඔවුන් ඉතාමත් පිපාසයෙන් පෙළෙමින් සිටින විට වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ ඇඟිලි වලින් ජලය ගලන්නට විය. වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ අනුගාමිකයන් පැමිණ ඔවුනට ශරීරය දෝවනය කිරීමට හෝ පානය කිරීමට තරම් ජලය ඔවුන්ගේ බඳුනෙහි නොමැති බව පැවසුහ. එවිට වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් එතුමාගේ හස්තය එම බඳුන තුලට දැමූ විට එතුමාගේ ඇඟිලි අතරින් ජලය ගලා ඒම ඇරඹුනි. එවිට ඔවුන් එම ජලය මඟින් තම පානීය හා දෝවන අවශ්‍යතා ඉටුකර ගත්හ. එහි අනුගාමිකයන් එක්දහස් පන්සියයක් පමණ සිටියෝය[4].

මෙලෙස මුහම්මද් ﷺ තුමාණන් විසින් සිදුකරන ලද සේම එතුමාට සිදුවුන තවත් බොහෝ ප්‍රාතිහාර්යයන් ඇත.

---

(1) History of the Byzantine State, Ostrogorsky, පිටුව. 95.
(2) History of the Byzantine State, Ostrogorsky, msgqj 100-101, iy History of Persia, Sykes, වෙළුම. 1, පිටුව 483-484 බලන්න The New Encyclopaedia Britannica, Micropaedia වෙළුම 4 පිටුව 1036
(3) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරි # 3637, සහ සහීහ් මුස්ලිම් #2802.
(4) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරි # 3576, සහ සහීහ් මුස්ලිම් #1856.

## (6) මුහම්මද් ﷺ තුමාණන්ගේ සරළ දිවි පෙවෙත.

මුහම්මද් ﷺ තුමාණන් වක්තෘවරයෙකු ලෙස ධර්ම දූත මෙහෙවර ආරම්කිරීමට පෙර හා වක්තෘවරයෙකු ලෙස ධර්ම දූත මෙහෙවර ඇරඹීමෙන් පසුව එතුමාණන්ගේ ජීවිතය සංසන්දනයට ලක් කළහොත්, අපට නිගමනය කළ හැකිවන්නේ වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් යනු භෞතික ප්‍රයෝජන, උසස් බව, කීර්තිය හෝ බලය ලබා ගැනීම උදෙසා වක්තෘ භාවය ලබා ගත් ව්‍යාජ වක්තෘවරයෙකු බව සිතීම හේතු සහගත නොවන බවයි.

වක්තෘ මුහම්මද් ﷺ තුමා, වක්තෘවරයෙකු ලෙස තම ධර්ම දූත මෙහෙවර ඇරඹීමට පෙර එතුමාණන්ට ආර්ථික ගැටළු කිසිවක් නොතිබුණි. සාර්ථක හා සුප්‍රසිද්ධ වෙළෙන්දෙකු ලෙස සතුටුදායක හා සැප පහසුකම් සහිත ආදායමක්ද එතුමා සතු විය. වක්තෘවරයෙකු ලෙස තම ධර්ම දූත මෙහෙවර ඇරඹීමෙන් පසුව හා එය හේතු කොට ගෙන භෞතික සම්පත් අතින් එතුමාණන් ඉතාමත් දිළිඳු බවට පත් වූහ. මෙය තවදුරටත් පැහැදිළි කර ගැනීම සඳහා එතුමාගේ දිවිය පිළිබඳව වන පහත ප්‍රකාශයන් සළකා බලමු:

* වරක් වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ බිරියක් වන ආයිෂා තුමිය, එතුමියගේ බෑණනුවන් අමතා: "බෑණනුවනි, වක්තෘවරයාණන්ගේ නිවසෙහි (ආහාර පිළියෙල කිරීම සඳහා) ගිනි නොදල්වා මාස දෙකක් නව සඳවල් තුනක් අප ගතකර ඇත්තෙමු" යි පැවසුවාය. එවිට ඔහු "නැන්දේ, ඔබව නොනැසි පවත්වා ගත්තේ කුමක්ද?" යයි විමසන ලදි. " කළු පැහැති වස්තූන් දෙක, එනම් රටඉඳි සහ ජලයයි. නමුත්, වක්තෘවරයාණන්ට අසල්වැසිව කිරිදෙන ඔටුදෙනුන් සිටින අන්සාරිවරුන් කිහිපදෙනෙකු සිටි නිසා එම කිරි වලින් ස්වල්පයක් වක්තෘවරයාණන්ටත් එවීමට ඔවුන් පුරුදු වී සිටිහ."[1]

* වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ අනුගාමිකයෙකු වන සහ්ල් ඉබ්නු සාද් පවසන ආකාරයට දෙවියන් විසින් එතුමාව වක්තෘවරයෙකු ලෙස යැවූ කාලයේ සිට එතුමා අභාවයටපත් වන තුරුම දෙවියන්ගේ වක්තෘවරයාණන් සියුම් පිටි වලින් සෑදූ පාන් නොදුටුහ[2].

* වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ බිරිය ආයිෂා තුමිය පැවසූ ආකාරයට "වක්තෘවරයාණන් සැතපීම සඳහා පාවිච්චි කළ එතුමාගේ මෙට්ටය සාදා තිබුණේ රටඉඳි ගසෙහි කෙඳි වලින් පුරවන ලද සත්ව සමකිනි[3].

* වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ අනුගාමිකයෙකු වූ අම්ර් ඉබ්නු අල් හාරිස් පවසන ආකාරයට වක්තෘවරයාණන් අභාවයටපත් වන අවස්ථාවේ එතුමාණන් සිය ගමන් බිමන් සඳහා යොදාගත් සුදු පැහැති කොටළුවා, එතුමාගේ ආයුධ සහ පුන්‍ය කටයුතු සඳහා වෙන් කරන ලද ඉඩම් කැබැල්ලක් හැර කිසිඳු මුදලක් හෝ අන් කිසිඳු වස්තුවක් ඉතිරිකොට ගොස් නොතිබුණි[4].

මුස්ලිම් භාණ්ඩාගාරය වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ගේ භාරයෙහි පැවතුනත් එතුමාගේ අභාවයට පෙර අරාබියානු අර්ධද්වීපයෙහි වැඩි කොටසක් මුස්ලිම් බවට පත්ව තිබියදීත් එතුමා ඉතාමත් දුක්බර ජීවිතයක් ගත කළහ.

---

(1) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් #2972 සහ සහීහ් අල් බුහාරි #2567
(2) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරි #5413, සහ අල් තිරමිදි #2364
(3) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් #2082 සහ සහීහ් අල් බුහාරි #6456
(4) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරි # 2739, සහ මුස්නද් අහමද් #17990

එතුමාගේ දූත මෙහෙවර අරඹා වසර දහ අටකට පසුව මුස්ලිම්වරුන් ජයග්‍රාහකයන් බවට පත් වූ නමුත් වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ගේ අභාවය දක්වාම එතුමාණන් මෙම දුෂ්කර දිවි පෙවෙතම ගත කළහ.

වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් වක්තෘභාවය ලබා ගත්තේ තත්වය, උසස් බව හෝ බලය ලබා ගැනීමේ අදහසින් විය හැකිද? බලය සහ තත්වය භුක්ති විඳීමේ ආශාව සාමාන්‍යයෙන් හොඳ ආහාර පාන, අලංකාර ඇඳුම් පැළඳුම්, විශාල මාළිගා, මුරකාවල්, නිසැක ආධිපත්‍ය යනාදිය සමග බැඳෙයි. මෙම කිසිඳු දෙයක් වක්තෘ මුහම්මද් ﷺ තුමාට අදාළ වෙයිද? මෙම පැණයට පිළිතුරු සැපයීමට එතුමාගේ ජීවිතය පිළිබඳව ඉතාමත් කෙටි නිරීක්ෂණයන් කිහිපයක් පහත පරිදි උපකාරී කර ගත හැක.

වක්තෘවරයෙකු ලෙසත්, ගුරුවරයෙකු ලෙසත්, උසස් දේශපාලකයෙකු ලෙසත්, විනිශ්චයකරුවෙකු ලෙසත් තම වගකීම් ඉටු කිරීමට අමතරව වක්තෘ මුහම්මද් තුමාණන් එතුමාගේ එළු දෙනගෙන් කිරි දෙවීමටත්,[1] එතුමාගේ ඇඳුම් පිළිසකර කිරීමටත්, එතුමාගේ පාවහන් අළුත්වැඩියා කර ගැනීමටත්,[2] ගේ දොර වැඩ කටයුතු සඳහා සහාය වීමටත්,[3] දුගී පුද්ගලයන් අසනීපවූ අවස්ථාවන්හිදී ඔවුන්ගේ සුව දුක් බැලීමට යෑමටත්[4] පුරුදු වී සිටියහ. එසේම එතුමාගේ අනුගාමිකයින් අගලක් කණින අවස්ථාවේදී ඔවුන් සමග එක්ව එහි වැලි ඉවත් කරමින් එතුමාණන් ඒ සඳහා සහාය වී ඇත[5]. එතුමාගේ දිවි පෙවෙත සරළ බවේ සහ නිහතමානිකමේ විශ්මය ජනක ප්‍රතිමූර්තියකි.

වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ අනුගාමිකයන් එතුමාණන්ට පුදුම සහගත ආකාරයට ආදරය කළහ. ගෞරව කළහ, එසේම, එතුමාව විශ්වාස කළහ. එසේ වුවත් එතුමා නිරතුරුවම අවධාරණය කර සිටියේ දේවත්වයෙන් සැළකීම දෙවියන් උදෙසා කළයුතු වනවා හැරෙන්නට එතුමාණන්ට පෞද්ගලිකව එසේ නොකල යුතු බවයි. වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ අනුගාමිකයෙකු වන අනස් ප්‍රකාශ කරන ආකාරයට, වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් හැර ඔවුන් දැඩිව ආදරය කළ වෙනත් අයෙකු නොමැති වුවත්, එතුමාණන් ඔවුන් අසළට පැමිණෙන විට අනෙකුත් පුද්ගලයන් ඉතාමත් උසස් පුද්ගලයන්ට ළඟට පැමිණෙන විට නැගිට, ගරු කරන ආකාරයට එතුමාට ගරු කිරීම සඳහා නැගිට සිටීම එතුමාණන් පිළිකුල් කළ නිසා[6] ඔවුන් එතුමාණන් වෙනුවෙන් නැගිට නොසිටියහ.

ඉස්ලාමයෙහි සමෘධිය පිළිබඳව අපේක්ෂාවක් ඇතිවීමට බොහෝ කලකට පෙර වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ට හා එතුමගේ අනුගාමිකයන්ට බොහෝ වධ හිංසා, දුක් වේදනා කම්කටොළු වලට මුහුණ දීමට සිදුවූ යුගයක ආරම්භයේදී එතුමාණන්ට ඉතාමත් සිත්ගන්නා සුළු යෝජනාවක් ඉදිරිපත් විය. මිත්‍යාදෘෂ්ටික නායකයන්ගේ නියෝජිතයෙකු වන ඔත්බා නැමැත්තා වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් කරා පැමිණ, "ඔබට මුදල් අවශ්‍යනම් අපි ඔබ වෙනුවෙන් ඇති තරම් මුදල් රැස්කර දෙන්නෙමු. එවිට ඔබට අප අතරින් ඉතාමත් ධනවත් අයෙකු වීමට හැකියි. ඔබට නායකත්වය අවශ්‍ය නම් අපි ඔබව අපගේ රජු ලෙස ඔටුනු පළඳවන්නේමු යැයි පැවසීය.

(1) සඳහන් වී ඇත්තේ සහ මුස්නද් අහමද් # 25517
(2) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරී # 676 සහ මුස්නද් අහමද් #25517
(3) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරී # 676 සහ මුස්නද් අහමද් #23706
(4) සඳහන් වී ඇත්තේ මුවත්තා මාලික් # 531
(5) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරී # 3034 සහ සහීහ් මුස්ලිම් #1803 සහ මුස්නද් අහමද් #18017
(6) සඳහන් වී ඇත්තේ මුස්නද් අහමද් #12117 සහ අල් තිරමිදී #2754

මේ සියල්ල වෙනුවෙන් ඔවුන් එතුමාණන්ගෙන් එක් කොන්දේසියක් පමණක් බලාපොරොත්තු වූහ. එනම්, එතුමා ජනයාව ඉස්ලාමය වැළඳගැනීමට ඇරයුම් කිරීම අත්හළ යුතු යන්නත්, දෙවියන්වහන්සේව නැමදිමේදී එතුමා කිසිදු සගයෙකු නොමැතිව එය තනිවම ඉටුකළ යුතු බවත්ය. මෙලොව වාසී පතන පුද්ගලයෙකුට මෙම යෝජනා මඟින් එක්තරා පෙළඹවීමක් ඇති නොකරනු ඇත්ද? මෙම යෝජනාව ඉදිරිපත් වූ විට වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් කුමන පැත්තක් ගත යුතුදැයි දෙගිඩියාවකට පත්වීද ? එසේත් නොමැති නම් කේවල් කිරීමේ එක්තරා ක්‍රමයක් ලෙස මෙයටත් වඩා හොඳ දීමනාවක් අපේක්ෂා කරමින් එතුමාණන් එම යෝජනාව ප්‍රතික්ෂේප කළාද ? එතුමාණන් එහිදී පිළිතුරු දුන් ආකාරය පහත දැක්වෙයි. "මහා කාරුණික, පරම දයාබර දෙවියන්වහන්සේගේ නාමයෙනි" එතුමාණන් ඔත්බාට අල් කුර්ආනයෙහි 41 : 1-38[1] දක්වාවූ වැකි පාරායනාකොට පෙන්වූහ. පහත දැක්වෙන්නේ එම වැකි වලින් කිහිපයකි.

> *﴾මෙය පරම දායබර, අසමසම කරුණාවන්තයා (දෙවියන්වහන්සේ) ගෙන් පහළවීමකි. එහි පරිච්ඡේදයන් විස්තරව කරුණු සහිතව දක්වා ඇත. අරාබි බස දන්නා ජනතාවට කුර්ආනයකි. ශුභ ආරංචියන් හා අනතුරු හැඟවීම් සහිත වූවකි. එහෙත් වැඩිදෙනෙක් මෙයට ඇහුම්කන් නොදී ප්‍රතිකෙෂ්ප කරයි.﴿*
> (අල් කුර්ආන් 41 : 2 – 4)

තවත් අවස්ථාවකදී මිනිසුන් ඉස්ලාමය වෙත කැඳවීම නවත්වන මෙන් වක්තෘ මුහම්මද් තුමාණන්ගේ සුළු පියා විසින් එතුමාණන්ට කරන ලද ඉල්ලීමට එතුමාගේ පිළිතුර ඉතාමත් ස්ථිර හා අවංක විය. "මා දෙවියන්වහන්සේගේ නාමයෙන් දිවුරා පොරොන්දු වෙමි. බාප්පේ, මෙම කාර්යය (මිනිසුන් ඉස්ලාමය වෙත කැඳවීම) අත්හැර දැමීම වෙනුවෙන් ඔවුන් මාගේ දකුණතෙහි සූර්යායත් මාගේ වම් අතෙහි චන්ද්‍රයාත් ගෙනවිත් දුන්නත්, දෙවියන් එහි ජයග්‍රහණය ලබා දෙන තුරු මා එයින් වැළකෙමි. එසේත් නැතහොත් එය ආරක්ෂා කරමින් මා මිය යමි."[2]

මුහම්මද් ﷺ තුමාණන් හා එතුමාගේ අනුගාමිකයන් වසර දහතුනක් මුළුල්ලේ ඉතාමත් දරුණු වධහිංසා වලින් පීඩනයට පත්වූවා පමණක් නොව, එතුමාණන්ව ඝාතනය කිරීම සඳහාද දේව විශ්වාසය නොකරන්නන් බොහෝ වාරයක් උත්සාහ කොට ඇත. එක් අවස්ථාවකදී එසවීමට පවා ඉතාමත්ම අසීරුවූ විශාල ගලක් එතුමාණන්ගේ හිස මතට පෙරලීම මඟින් එතුමාව ඝාතනය කිරීමට ඔවුන් තැත් කළහ[3]. තවත් අවස්ථාවකදි එතුමාගේ ආහාර වලට විෂ මිශ්‍ර කර එතුමාව ඝාතනය කිරීමට ඔවුන් උත්සාහ කළහ[4]. එතුමාගේ සතුරන්ට එරෙහිව එතුමාණන් සම්පූර්ණයෙන් ජයග්‍රහණය කර තිබියදීත් එතරම් දුක් කම්කටොළු හා පරිත්‍යාග වලින් යුත් ජීවිතයක් සුදුසු යැයි නිර්දේශ කරන්නේ කුමක් මඟින්ද? ඉතාමත් කීර්තිමත් අවස්ථාවන්හිදී පවා එතුමාණන්ගේ එම සාර්ථකත්වයට හේතුව එතුමාණන්ගේ බුද්ධිය හෝ දක්ෂතාවයන් නොම දෙවියන්වහන්සේගේ උපකාරයම පමණක් බව තරයේම ප්‍රකාශ කරමින්, එතුමාණන් පෙන්වන ලද නිහතමානි බව සහ උදාර බව කුමකින් විස්තර කළ හැකිද? මෙම ගතිගුණයන් බල තණ්හාවෙන් පෙළෙන එසේත් නැතිනම් තමාගේ යහපත ගැනම සිතන පුද්ගලයෙකුගේ ලක්ෂණයන් විය හැකිද?

---

(1) අල් සීරාහ් අල් නබවීයා, ඉබන් හෙෂාම්, වෙළුම 1, පිටුව 293-294
(2) අල් සීරාහ් අල් නබවීයා, ඉබන් හෙෂාම්, වෙළුම 1, පිටුව 265-266
(3) අල් සීරාහ් අල් නබවීයා, ඉබන් හෙෂාම්, වෙළුම 1, පිටුව 298-299
(4) සඳහන් වී ඇත්තේ අල් දාරිමි : 68 සහ අබූ දාවුද් : 4510

## (7) ඉස්ලාමයේ ආශ්චර්යමත් වර්ධනය

මෙම පරිච්ඡේදය අවසානයේදී ඉස්ලාමයෙහි සත්‍යතාවය පිළිබඳව එක් වැදගත් දර්ශනයක් හුවා දැක්විම සුදුසුය. ඇමරිකා එක්සත් ජනපදයේ ඉතාමත්ම වේගයෙන් පැතිර යන ධර්මය ඉස්ලාමය බව සැවොම දනිති. මේ පිළිබඳව කරන ලද නිරීක්ෂණයන් කිහිපයක් පහත දක්වා ඇත.

* "ඉස්ලාමය යනු ඇමරිකාවෙහි වේගයෙන්ම පැතිර යන ධර්මය වන අතරම, එය අපගේ මිනිසුන් බොහෝ දෙනෙකුට මග පෙන්වන ස්ථාවරත්වයේ කුළුණකි...." *(හිලරි රොදම් ක්ලින්ටන්, ලොස් ඇන්ජලිස් ටයිම්ස්)*[1]

* "මුස්ලිම්වරුන් යනු ලොව වේගයෙන්ම වර්ධනය වන කණ්ඩායමයි...." ***(ජනගහණ සංගණන මණ්ඩලය, යූ එස් ඒ ටුඩේ)***[2]

* "ඉස්ලාමය යනු රටෙහි ඉතාමත්ම සීඝ්‍රයෙන් වර්ධනය වන දහමයි...." ***(ජෙරල්ඩින් බෝම් නිවුස් ඩේ හි ධර්මය පිළිබඳව ලේඛක, නිවුස් ඩේ)***[3]

* "ඉස්ලාම්, එක්සත් ජනපදයෙහි වේගයෙන්ම වර්ධනය වන ධර්මයයි..." *(එරි එල් ගෝල්ඩ්මන් නිව්යෝර්ක් ටයිම්ස්)*[4]

මෙම සංසිද්ධීන් මඟින් ඉස්ලාමය යනු සත්‍ය වශයෙන්ම දෙවියන්වහන්සේගෙන් ලද ධර්මයක් බව පෙන්නුම් කරයි. ඉතාමත් හොඳින් සැළකිලිමත් නොවී ඉතාමත් ගැඹුරින් කල්පනා කර නොබලා ඉස්ලාමය සත්‍යයක් බව නිගමනය නොකොට මෙතරම් ඇමරිකා-නුවන් පිරිසක් ඉස්ලාමය වැළඳගනු ඇතැයි සිතීම අසාධාරණය. මෙම ඇමරිකානුවන් විවිධ වූ ජාතීන් වලට හා විවිධ සමාජ මට්ටම් වලට අයත් වූවන් සේම විවිධ රැකියාවල නියුක්තවන්නන්ද වෙයි. එයට විද්‍යාඥයන්, මහාචාර්යවරුන්, දාර්ශනිකයන් සේම මාධ්‍යවේදීන්ද ඇතුළත්ය.

කුර්ආනය යනු දෙවියන්වහන්සේගේම වදන් බවත් මුහම්මද් ﷺ තුමාණන් සත්‍ය වශයෙන්ම දෙවියන්වහන්සේ විසින් එවන ලද දෙවියන්ගේ වක්තෘවරයෙකු බවත් ඉස්ලාමය යනු සත්‍ය වශයෙන්ම දෙවියන්වහන්සේගෙන් ලද ධර්මයක්ම බවත් විශ්වාස කිරීම සඳහා මෙම පරිච්ඡේදයෙහි අඩංගු වූ කරුණු සාක්ෂි සමහරක් සපයන බව සැලකිය හැක.

---

(1) Larry B. Stammer, Times ධර්මය පිළිබඳව ලේඛකල "First Lady Breaks Ground With Muslims," Los Angeles Times, Home Edition, Metro Section, Part B, මැයි 31, 1996, පිටුව. 3.

(2) Timothy Kenny, "Elsewhere in the World," USA Today, Final Edition, News Section, පෙබරවාරි 17, 1989, පිටුව. 4A.

(3) Geraldine Baum, "For Love of Allah," Newsday, Nassau and Suffolk Edition, Part II, මාර්තු 7, 1989, පිටුව. 4.

(4) Ari L. Goldman, "Mainstream Islam Rapidly Embraced By Black Americans," New York Times, Late City Final Edition, පෙබරවාරි 21,1989, පිටුව 1.

# 2 පරිච්ඡේදය

# ඉස්ලාමයෙන් ලැබෙන ප්‍රතිලාභ සමහරක්

ඉස්ලාමය තනි පුද්ගලයන්ට සේම සමාජයටත් ප්‍රතිලාභ රැසක් සලසයි. මෙම පරිච්ඡේදයෙහි තනි පුද්ගලයෙකු සඳහා ඉස්ලාමය මඟින් ලබාගත හැකි ප්‍රතිලාභ සමහරක් සඳහන් වෙයි.

## (1) සදාකාලික වූ ස්වර්ගය කරා ඇති දොරටුවයි.

දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට

*( මුහම්මද්! මෙම අල් කුර්ආනය ) විශ්වාස කරන්නා වූත් (ඒ අනුව) යහපත් ලෙස ක්‍රියාකරන අයට ගලා බසින ගංගාවන්ගෙන් යුතු උද්‍යාන (ස්වර්ගය) ඇතැයි ශුභාරංචි දන්වනු......*
*(අල් කුර්ආනය 2:25)*

දෙවියන්වහන්සේ තව දුරටත් මෙසේ පවසයි,

*දෙවියන්වහන්සේ ගැනද ඔහුගේ වක්තෘවරයා ගැනද විශ්වාස කළ අය සඳහා පිළියෙළ කරඇති අහසෙහි හා පොළවෙහි පළල මෙන් පළලින් යුත් ස්වර්ගය වෙත එකිනෙකා දිවයන්න,*
*(අල් කුර්ආනය 57:21)*

වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් අපට පවසා ඇති ආකාරයට ස්වර්ගවාසීන් අතුරින් ඉතාමත් පහළම මට්ටමේ සිටින්නන්ට මෙලොවට වඩා දස ගුණයක ප්‍රමාණයක් ලැබෙනු ඇති,[1] අතරම ඔහුට හෝ ඇයට ඔවුන් කැමති ඕනෑම දෙයක් එමෙන් දස ගුණයකින් ලැබෙයි.[2] එසේම වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් පැවසූ ආකාරයට: {ස්වර්ගයෙහි ලැබෙන එක් පාදයක් තැබීමට සෑහෙන ඉඩ ප්‍රමාණය පවා මෙම මුළු ලෝකයම සහ එහි ඇති සියළුම දෙයට වඩා හොඳය}[3] එතුමා තව දුරටත් පැවසූ ආකාරයට: {ස්වර්ගයෙහි කිසිඳු ඇසකින් දැක නොමැති දේවල්, කිසිඳු කණකින් අසා නොමැති දේවල් සේම කිසිඳු මිනිස් සිතකින් සිතාවත් නොමැති දේවල් තිබෙයි }[4] එසේම එතුමාණන්, { ස්වර්ගයට නියම වූවන් අතුරින් ලොව වසන ඉතාමත්ම කාලකණ්ණි පුද්ගලයාව එක් වරක් ස්වර්ගයෙහි ගිල්වනු ලැබේ. ඉන් පසුව ඔහුගෙන්,

---

(1) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් #186 සහ සහීහ් අල් බුහාරි #6571
(2) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 188 සහ මුස්නද් අහමද් #10832
(3) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරි #6568 සහ මුස්නද් අහමද් #13368
(4) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 2825 සහ මුස්නද් අහමද් #8609

{"ආදම්ගේ පුතණුවනි, ඔබ කෙදිනක හෝ කිසියම් පීඩාවක් අත්විඳ තිබේද? ඔබ කෙදිනක හෝ කිසියම් දුක්ඛිත භාවයකට මුහුණ පා තිබේද? " යැයි අසනු ලැබේ. එවිට ඔහු 'නැහැ' දෙවියන්ගේ නාමයෙන්, "අහෝ දෙවියනි! මම කෙදිනකවත් කිසිම දුඃඛිත භාවයකට මුහුණ පා නොමැති අතරම මා හට කෙදිනකවත් පීඩාවක් අත් විඳීමට ලැබී නොමැත" යැයි ඔහු පවසනු ඇත} [1] යනුවෙන්ද පැවසූහ.

ඔබ ස්වර්ගයට ඇතුළු වන විට ඔබ ලෙඩ රෝග, වේදනා, දුක් හෝ මරණයෙන් තොර ඉතාමත් ප්‍රීතිදායක ජීවිතයක් ගත කරනු ඇත; දෙවියන් ඔබ කෙරෙහි සතුටු වනු ඇත. එසේම, ඔබ එහි සදාකාලිකව ජීවත් වනු ඇත. කුර්ආනයෙහි දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට,

> *﴿ දේව විශ්වාසය කර යහපත් ක්‍රියාවෙහි යෙදුණු අයව, අපි එහි යටින් දිය ඇළි ගලා බසින ස්වර්ගයට ඇතුළත් කරමු. ඔවුන් එහි සදාකල්හිම වෙසෙනු ඇත. ﴾*
> (අල් කුර්ආනය 4:57)

## (2) නිරයෙහි ගින්නෙන් මිදීමේ මාර්ගයයි

දෙවියන්වහන්සේ අල් කුර්ආනයෙහි මෙසේ පවසා ඇත.

> *﴿ දේව විශ්වාසය නොකර තවද දේව විශ්වාසය නොකරන්නන් ලෙස මියගිය අයද සකල මහපොළොවම රනින් වසා ගැලවීමක් සඳහා වන්දියක් වශයෙන් එය ඉදිරිපත් කොට සිටියද නියතවශයෙන්ම ඔවුනට පරලොවදී නින්දිත දඬුවම් ඇත. තවද ඔවුනට පිහිට වීමට කිසිවකුද නැත. ﴾*
> (අල් කුර්ආනය 3:91)

එබැවින්, ස්වර්ගය ලබා ගැනීම සඳහා නිරයෙහි ගින්නෙන් ආරක්ෂා වීම සඳහාත් ඇති එකම අවස්ථාව මෙලොව ජීවිතයයි. කුමක් නිසාද කිවහොත්, යමෙකු දේව විශ්වාසයෙන් තොරව මිය ගියහොත් ඔහුට දේව විශ්වාසකරන්නෙකු වීම සඳහා නැවත මෙලොවට පැමිණීමට තවත් කිසිඳු අවස්ථාවක් නොලැබෙන බැවිනි. විනිශ්චය දිනයේදී දේවවිශ්වාස නොකරන්නන්ට කුමක් සිදු වනු ඇද්දැයි අල් කුරානයෙහි දෙවියන්වහනසේ විසින් පවසා ඇත්තේ මෙසේය:

> *﴿ ඔවුන්ව නිරය ඉදිරිපිට නතර කරන කල්හි නුඹ ඔවුන්ව දුටු විට, අපව නැවත වරක් (පොළවට) යවන්නේ නම් අපි අපගේ පරමාධිපතිගේ අණපනත් (හා සංඥාවන්) බොරු යැයි නොකියන්නෙමු. තවද අප දේව විශ්වාසය ඇත්තන් වන්නෙමුයි කියති. ﴾*
> (අල් කුර්ආනය 6:27)

නමුත්, කිසිවෙකුටත් මෙම දෙවන අවස්ථාව නොලැබෙනු ඇත.

---

(1) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 2807, සහ මුස්නද් අහමද් #12699

වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් පැවසූ ආකාරයට; { විනිශ්චය දිනයේදී ගින්නට (නිරයට) නියම කරන ලද පුද්ගලයින් අතුරින් මෙලොව ජීවිතයෙහිදී ඉතාමත්ම ප්‍රීතියෙන් විසූ පුද්ගලයාව නිරයෙහි එක් වරක් ගිල්වනු ලැබේ. ඉන් පසු ඔහුගෙන් "ආදම්ගේ පුතණුවනි, ඔබ කවදාකවත් හොඳ දෙයක් දැක තිබේද? ඔබ කවදා හෝ දිනෙක ආශිර්වාදයක් අත් විඳ තිබේද?" යැයි අසනු ලැබේ. එවිට ඔහු " නැහැ දෙවියන්වහන්සේගේ නාමයෙන්ම අහෝ දෙවියනි! යැයි පවසනු ඇත.}[1]

## (3) සැබෑ සන්තුෂ්ටිය හා ආධ්‍යාත්මික සාමය

සැබෑ සන්තුෂ්ටිය හා සාමය ලබාගත හැක්කේ මෙලොව මවා පාලනය කරන දෙවියන්වහන්සේගේ අණට කීකරු වීම තුළිනි. අල් කුර්ආනය මඟින් දෙවියන්වහන්සේ පවසන ආකාරයට :

*﴾ඇත්තටම දෙවියන්වහන්සේ ගැන සිහි කිරීමෙන් හිතට සැනසීමක් ලැබේ.﴿*
*(අල් කුර්ආනය 13:28)*

අනික් අතට, කුර්ආනයෙන් ඉවතට යොමුවන පුද්ගලයන්ට මෙලොවදී ඉතා දුක් කරදර වලින් පිරි ජීවිතයක් උරුම වෙයි. දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට

*﴾යමෙකු මාගේ කුර්ආනයට[2] පිටු පාන්නේද නියත වශයෙන්ම ඔහුගේ ජීවිතය දුෂ්කර එකක් වේ. අවසාන දිනයේ අපි ඔහුව අන්ධයෙකු ලෙස නැගිට්ටවන්නෙමු.﴿*
*(අල් කුර්ආනය 20:124)*

මිළ මුදල් දී ලබා ගත හැකි භෞතික සැප සම්පත් භුක්ති විඳිමින් සිටියදීත් සමහරුන් සියදිවි නසා ගන්නේ ඇයි දැයි මේ මඟින් පැහැදිලි වෙයි. උදාහරණයක් ලෙස, එක් රැයකදී ඩොලර් 150,000 කටත් වඩා මුදලක් ඉපයීමට හුරුව සිටි, කලකට ඉහතදී සුප්‍රසිද්ධ පොප් ගායකයෙකු වූ කැට් ස්ටීවන්ස් (දැන් ඔහු යූසුෆ් ඉස්ලාම් නම් වේ.) දෙස බලමු. ඔහුට කිසිඳු භෞතික සාර්ථකත්වයක් තුළින් ලබා ගත නොහැකි වූ සැබෑ සතුට හා සාමය ඉස්ලාමය වැළඳගැනීමෙන් පසුව ඔහුට ලැබුණි.[3]

---

(1) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 2807 සහ මුස්නද් අහමද් #12699

(2) කුර්ආනය විශ්වාසය නොකරන්නන් සේම එහි අණපනත් අනුව ක්‍රියා නොකරන්නන්

(3) කැට් ස්ටීවන්ස් ඉස්ලාමය වැළඳගත් පසුව ඔහුගේ හැඟීම් පිළිබඳව ඔබට දැන ගැනීමට අවශ්‍ය නම් ඔහුගේ වර්තමාන ලිපිනය මෙයයි.2 Digswell Street, London N7 8JX, United Kingdom.

ඉස්ලාමය වැළඳගත් පුද්ගලයන්ගේ තතු විත්ති පිළිබඳව අධ්‍යනය කිරීම සඳහා www.islam-guide.com/stories වෙබ් අඩවියට පිවිසෙන්න. නැතිනම් why Islam is Our Choice[1] නැමැති ග්‍රන්ථය බලන්න. මෙම පොත් පිංචෙහි සහ වෙබ් අඩවියේදී ඔබට ඉස්ලාමය වැළඳගත් පුද්ගලයන්ගේ සිතුම් පැතුම් පිළිබඳවද කියවීමට හැකියාවක් ඇත. ඔවුන් විවිධ රටවලට අයත් වූ විවිධ අධ්‍යාපන මට්ටම් වලින් යුක්ත වුවන් වන අතරම, විවිධ පරිසර වල ජීවත් වන්නන්ද වෙයි.

## (4) පෙර සිදු කරන ලද සියළු පව් වලට සමාව

යමෙකු ඉස්ලාමය වැළඳගත් විට ඔහු එයට පෙර සිදු කරන ලද සියළුම පව් හා අයහපත් ක්‍රියා වලට දෙවියන්වහන්සේ විසින් සමාව දෙනු ලැබේ. අම්ර් නැමැත්තෙකු වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් කරා පැමිණ " මා හට ඔබගේ දකුණත දෙන්න. එවිට මම ඔබට මාගේ පක්ෂපාතී භාවය පිළිබඳව පොරොන්දු වෙන්නම්" යැයි පැවසීය. එවිට වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් එතුමාගේ දකුණත දිගු කළහ. අම්ර් ඔහුගේ අත ඉවත් කර ගත්තේය. එවිට වක්තෘ මුහම්මද් ﷺ තුමාණෝ { අහෝ, ඔබට කුමක් සිදුවීද අම්ර් ? } යැයි විමසූහ. මා කිසියම් කොන්දේසියක් ඉදිරිපත් කිරීමට සිතුවෙමි යැයි " අම්ර් පිළිතුරු දුණි. { ඔබ ඉදිරිපත් කිරීමට බලාපොරොත්තු වන කොන්දේසිය කුමක්ද? } යයි වක්තෘවරයාණන් ඇසූහ. "දෙවියන්වහන්සේ මාගේ වැරදි වලට සමාව දිය යුතුය" යැයි අම්ර් පැවසීය. එවිට වක්තෘ මුහම්මද් ﷺ තුමාණෝ {ඉස්ලාමය වැළඳගැනීම මඟින් එයට පෙර කරන ලද සියලුම පව් මකා දමන බව ඔබ දැන සිටියේ නැත්ද?} [2] යනුවෙන් පැවසූහ.

වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ගේ පහත දැක්වෙන ප්‍රකාශයට අනුව යමෙකු ඉස්ලාමය වැළඳ ගැනීමෙන් පසුව එම පුද්ගලයා කරනු ලබන යහපත් හෝ අයහපත් ක්‍රියා සඳහා ඔහුට අදාළ වූ ප්‍රතිඵල ලැබේ. {අතිශ්‍රේෂ්ඨ වූ හා ආශීර්වාද ලැබූ ඔබගේ දෙවියන්වහන්සේ ඉතාමත් කාරුණිකය. යමෙකු යහපත් දෙයක් කිරීමට සිතා සිටියත්, ඔහු එය ඉටු නොකළහොත් ඔහුට එක් යහපත් ක්‍රියාවක් සිදු කිරීමේ ප්‍රත්ඵල (පිනක්) සටහන් වෙයි. ඔහු එම යහපත් ක්‍රියාව ඉටු කළහොත් එම ක්‍රියාව මෙන් දස ගුණයක සිට හත්සිය ගුණයක් හෝ එයටත් වඩා වැඩි වාර ගණනාවක් ප්‍රතිඵල ඔහු වෙනුවෙන් සටහන් වෙයි. යමෙකු එක් අයහපත් ක්‍රියාවක් සිදුකිරීමට සිතා සිටි නමුත් එය ඉටු නොකළහොත්, ඔහු වෙනුවෙන් එක් යහපතක් සිදුකිරීමේ ප්‍රතිඵල සටහන් වෙයි. ඔහු එම අයහපත් ක්‍රියාව සිදු කළහොත්, ඔහුට එරෙහිව එක් පවක් කිරීමෙහි ප්‍රතිඵල සටහන් වෙයි. එසේත් නැතහොත්, දෙවියන්වහන්සේ විසින් එය ඉවත් කොට දමනු ලැබේ.} [3]

---

(1) මෙම ග්‍රන්ථයේ කතෘවරයා වන්නේ මුහම්මද් එච් ෂහිද් ය. මෙහි පිටපතක් ලබා ගැනීම සඳහා www.islam-guide.com/stories වෙබ් අඩවියට පිවිසෙන්න. නැතිනම් මෙම පත්‍රිකාවෙහි පිටු අංක 69-70 හි සඳහන් සංවිධානයන්ගෙන් එකක් හා සම්බන්ධ වන්න.

(2) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 121 සහ මුස්නද් අහමද් #17357

(3) සඳහන් වී ඇත්තේ මුස්නද් අහමද් #2515 සහ සහීහ් මුස්ලිම් # 131

## 3 පරිච්ඡේදය

# ඉස්ලාමය පිළබඳව සාමාන්‍ය තොරතුරු

## ඉස්ලාම් යනු කුමක්ද?

ඉස්ලාම් ධර්මය යනු, දෙවියන්වහන්සේගේ මගපෙන්වීම සම්පූර්ණයෙන්ම පිළිගැනීම සහ එයට කීකරු වීමයි. මෙම මගපෙන්වීම් දෙවියන්වහන්සේ විසින් ඔහුගේ අවසාන වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ට හෙළිදරව් කරන ලදී.

## ඉස්ලාමයෙහි මූලික විශ්වාසයන් කිහිපයක්

### (1) දෙවියන්වහන්සේ පිළිබඳව විශ්වාස කිරීම

මුස්ලිම්වරුන් විසින් ඒකීය, කිසිවෙකුටත් සමකළ නොහැකි, කිසිඳු දරුවෙකු හෝ සහකරුවෙකු නොමැති එකම දෙවියෙකු පිළිබඳව විශ්වාස කරන අතරම, ඔහු හැර අන් කිසිඳු කෙනෙකුට නැමදුම් ලැබීමේ වරප්‍රසාදය නොමැති බවද විශ්වාස කරති. සැබෑ දෙවියන් වන්නේ ඔහුම පමණක්ම වේ. ඔහුට ඉතාමත් උතුම් වූ නාමයන් ඇති අතර ඔහුට ඉතා උසස්, කිසිඳු අඩු ලුහුඩු කමකින් තොර වූ සර්ව සම්පූර්ණ ගුණාංගයන් ඇත. කිසිවෙකුත් ඔහුගේ දේවත්වයේ හෝ ගුණාංගවල හවුල් කරුවෙකු නොවේ. අල් කුර්ආනයෙහි දෙවියන්වහනසේ තමා පිළිබඳව මෙසේ විස්තර කරයි.

> ﴿ *පවසන්න ! දෙවියන්වහන්සේ එක්කෙනෙකි. දෙවියන්වහන්සේ අවශ්‍යතාවයන්ගෙන් තොර වූ කෙනෙකි. ඔහුට දාව කිසිකෙනෙකු ඉපදුනේ නැත. ඔහු කිසිවෙකුට දාව ඉපදුනේද නැත. තවද ඔහුට සමාන කිසිවෙකු නැත.* ﴾
> (*අල් කුර්ආනය* 112:1-4)

දෙවියන්වහන්සේව හැර අන් කිසිඳු අයෙකුව යැදීම හෝ අන් කිසිඳු අයෙකුට ආයාචනා කිරීම හෝ යාච්ඥා කිරීම හෝ වන්දනාමාන කිරීමේ කිසිඳු ක්‍රියාවලියකට බඳුන්වීමට කිසිඳු හිමිකමක් නොමැති අතර එම හිමිකම ඇත්තේ දෙවිය-න්වහන්සේට පමණි. සර්වබලධාරී වන්නේත්, මැවුම්කරුවාණන් වන්නේත්, පරමාධිපති වන්නේත් දෙවියන්වහන්සේම පමණක්ම වන අතර සකළ විශ්වයෙහිම පෝෂකයාණන් වන්නේද ඔහුමය. ඔහු සියලුම දෑ පාලනය කරයි.



විචිත්‍ර අක්ෂර කලාවෙන් ලියන ලද අල්කුරානයෙහි 112 පරිච්ඡේදය

## 3 පරිච්ඡේදය

# ඉස්ලාමය පිළබඳව සාමාන්‍ය තොරතුරු

## ඉස්ලාම් යනු කුමක්ද?

ඉස්ලාම් ධර්මය යනු, දෙවියන්වහන්සේගේ මගපෙන්වීම සම්පූර්ණයෙන්ම පිළිගැනීම සහ එයට කීකරු වීමයි. මෙම මගපෙන්වීම් දෙවියන්වහන්සේ විසින් ඔහුගේ අවසාන වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ට හෙළිදරව් කරන ලදී.

## ඉස්ලාමයෙහි මූලික විශ්වාසයන් කිහිපයක්

### (1) දෙවියන්වහන්සේ පිළිබඳව විශ්වාස කිරීම

මුස්ලිම්වරුන් විසින් ඒකීය, කිසිවෙකුටත් සමකළ නොහැකි, කිසිඳු දරුවෙකු හෝ සහකරුවෙකු නොමැති එකම දෙවියෙකු පිළිබඳව විශ්වාස කරන අතරම, ඔහු හැර අන් කිසිඳු කෙනෙකුට නැමදුම් ලැබීමේ වරප්‍රසාදය නොමැති බවද විශ්වාස කරති. සැබෑ දෙවියන් වන්නේ ඔහුම පමණක්ම වේ. ඔහුට ඉතාමත් උතුම් වූ නාමයන් ඇති අතර ඔහුට ඉතා උසස්, කිසිඳු අඩු ලුහුඩු කමකින් තොර වූ සර්ව සම්පූර්ණ ගුණාංගයන් ඇත. කිසිවෙකුත් ඔහුගේ දේවත්වයේ හෝ ගුණාංගවල හවුල් කරුවෙකු නොවේ. අල් කුර්ආනයෙහි දෙවියන්වහනසේ තමා පිළිබඳව මෙසේ විස්තර කරයි.

> *﴿ පවසන්න ! දෙවියන්වහන්සේ එක්කෙනෙකි. දෙවියන්වහන්සේ අවශ්‍යතාවයන්ගෙන් තොර වූ කෙනෙකි. ඔහුට දාව කිසිකෙනෙකු ඉපදුනේ නැත. ඔහු කිසිවෙකුට දාව ඉපදුනේද නැත. තවද ඔහුට සමාන කිසිවෙකු නැත. ﴾*
> (අල් කුර්ආනය 112:1-4)

දෙවියන්වහන්සේව හැර අන් කිසිඳු අයෙකුව යැදීම හෝ අන් කිසිඳු අයෙකුට ආයාචනා කිරීම හෝ යාච්ඤා කිරීම හෝ වන්දනාමාන කිරීමේ කිසිඳු ක්‍රියාවලියකට බඳුන්වීමට කිසිඳු හිමිකමක් නොමැති අතර එම හිමිකම ඇත්තේ දෙවියන්වහන්සේට පමණි. සර්වබලධාරී වන්නේත්, මැවුම්කරුවාණන් වන්නේත්, පරමාධිපති වන්නේත් දෙවියන්වහන්සේම පමණක්ම වන අතර සකළ විශ්වයෙහිම පෝෂකයාණන් වන්නේද ඔහුමය. ඔහු සියලුම දෑ පාලනය කරයි.



විචිත්‍ර අක්ෂර කලාවෙන් ලියන ලද අල්කුරානයෙහි 112 පරිච්ඡේදය

දෙවියන් යනු ත්‍රිත්වයක් නොවන බවට දෙවියනවහන්සේ අල් කුර්ආනයෙහි මෙසේ පවසා ඇත.

> *නියතවශයෙන්ම දෙවියන්වහන්සේ තිදෙනාගෙන් තුන්වැන්නා යැයි කිවූ අය සැබැවින්ම අවිශ්වාසවන්තයින් වේ. එකම දෙවියෙකු හැර වෙනත් දෙවියන් නැත. ඔවුන් කියන දෙයින් ඔවුන් නොවැළකුණහොත් ඔවුන්ගෙන් අවිශ්වාසවන්තයින්ට වේදනීය දඬුවම් ලැබෙනු ඇත. එබැවින් ඔවුන් දෙවියන්වහන්සේ වෙත හැරී ඔවුහු (කළ පාපයන්ට) පසුතැවිලි වී ඔහුගෙන් සමාව ඇයදිය යුතු නොවේද? දෙවියන්වහන්සේ බෙහෙවින් ක්ෂමාශීලීය. අසීමිත කරුණාවන්තය. මරියම්ගේ පුත් මසීහ් වක්තෘවරයෙකු මිස (වෙන කෙනෙකු) නොවීය.*
> (අල් කුර්ආනය 5: 73-75)

මැවීමෙහි සත්වන දිනයේදී දෙවියන් විවේක ගැනීම, මනුෂ්‍ය වර්ගයාට එරෙහිව ඊර්ෂ්‍යා සහගත කුමන්ත්‍රණයක් සිදු කළ තම දේව දූතයෙකු සමග දෙවියන් පොර බැදීම හෝ දෙවියන් ඕනෑම මනුෂ්‍යයෙකු තුළ ජීවමානව වැඩ සිටීම යනාදිය ඉස්ලාමය ප්‍රතික්ෂේප කරයි. එසේම, දෙවියන්වහන්සේට කිසිඳු ආකාරයක මනුෂ්‍ය ස්වරූපයක් ආරෝපණය කිරීමද ඉස්ලාමය ප්‍රතික්ෂේප කරයි. මේ සියලුම දේ දෙවියන්වහන්සේට අවමන් කිරීම් ලෙස සැලකේ. දෙවියන්වහන්සේ ඉතා උත්කෘෂ්ඨය. ඔහු සියලුම ආකාරයේ අසම්පූර්ණතාවයන්ගෙන් තොර වූවකි. ඔහු කිසිඳු දිනක වෙහෙසට පත් නොවේ. ඔහු කෙදිනක වත් නිදිබර වන්නේද නිදන්නේද නැත.

'අල්ලාහ්' නම් අරාබි වචනයෙහි අර්ථය දෙවියන්වහන්සේ (සකළ විශ්වයම මවන ලද එකම හා සත්‍ය වූ දෙවියන්වහන්සේ) යන්නයි. මෙම 'අල්ලාහ්' නම් අරාබි වචනය අරාබි භාෂාව කථා කරන්නන් අතර අරාබි මුස්ලිම්වරුන් සේම අරාබි ක්‍රිස්තියානි භක්තිකයන්ද දෙවියන්වහන්සේව අමතන ආකාරයයි. මෙම වචනය ඒකීය වූ හා සත්‍ය වූ දෙවියන්වහන්සේගේ නාමයක් ලෙස මිස අන් කිසිවක් නම් කිරීමට යොදා ගත නොහැක. 'අල්ලාහ්' නම් වචනය අල් කුර්ආනයෙහි 2150 වාරයකටත් වඩා වැඩි වාර ගණනක් සඳහන්ව පවතී. අරාබි භාෂාවට බොහෝ දුරට සමානතා සහිත එසේම, ක්‍රිස්තුස් වහන්සේ පුරුද්දක් ලෙස කථා කරන ලද ඇරමෙයික්[1] නම් භාෂාවේද දෙවියන්වහන්සේව අල්ලාහ් යනුවෙන් හඳුන්වා ඇත.

## (2) සුරදූතයන් පිළිබඳව විශ්වාස කිරීම.

සුරදූතයන්ගේ පැවැත්ම සත්‍ය බවත්, ඔවුන් උතුම් වූ මැවීමක් බවත්, මුස්ලිම් භක්තිකයින් විශ්වාස කරති. සුරදූතයන් දෙවියන්වහන්සේව පමණක් නමදිති. දෙවියන්වහන්සේට කීකරු වෙති. එසේම දෙවියන්වහන්සේගේ අණ අනුව පමණක් ක්‍රියා කරති. මුහම්මද් තුමාණන් කරා අල් කුර්ආනය රැගෙන ආ ජිබ්රීල් (ගේබ්‍රියෙල්) ද සුරදූතයන්ගෙන් කෙනෙකි.

(1) NIV Compact Dictionary of the Bible, Douglas, පිටුව. 42.

## (3) දෙවියන්වහන්සේ විසින් හෙළි දරව් කරන ලද පුස්තකයන් පිළිබඳව විශ්වාස කිරීම.

දෙවියන්වහන්සේ විසින් මිනිසාට මග පෙන්වීමක් ලෙස හා මිනිස් වර්ගයාට ලබාදුන් සාධකයක් ලෙස මෙම පුස්තකයන් ඔහුගේ පණිවිඩකරුවන්ට ලබා දුන් බව මුස්ලිම් භක්තිකයින් විශ්වාස කරයි. මෙම පුස්ථකයන් අතර, දෙවියන්වහන්සේ විසින් තම වක්තෘවරයෙකු වන මුහම්මද් තුමාණන්ට හෙළිදරව් කරන ලද කුර්ආනයද වෙයි. අල් කුර්ආනය කිසිඳු වෙනස් කමක් කිරීමකට හෝ කිසිඳු විකෘති වීමකට ලක් නොවී ආරක්ෂා කරන බවට දෙවියන්වහන්සේ විසින් සහතික වී ඇත. දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට,

> ﴾ *අපමය මෙම අල් කුර්ආනය (ධර්මෝපදේශය) පහළ කළේ. තවද එය ආරක්ෂා කරන්නේද අපමය.* ﴿
> *(අල් කුර්ආනය 15:9)*

## (4) දෙවියන්වහන්සේගේ පණිවිඩකරුවන් සහ වක්තෘවරුන් පිළිබඳව විශ්වාස කිරීම

ආදම්ගෙන් ආරම්භ වී, නෝවාද(නුහ්) ඇතුළුව ආබ්රහම්(ඉබ්රාහීම්), ඉෂ්මයිල් (ඉස්මායිල්), අයිසැක්(ඊස්හාක්), ජේකෝබ්(යාකුබ්), මෝසස්(මූසා) හා යේසුස්(ඊසා) (ඔවුන් හට සාමය අත් වේවා!) වැනි වූ වක්තෘවරුන් සහ දෙවියන්වහන්සේගේ පණිවිඩ-කරුවන් ගැන මුස්ලිම්වරුන් විශ්වාස කරති. නමුත් දෙවියන්වහන්සේගේන් මිනිසාට ලැබුණ අවසාන පණිවුඩය එනම් සදාකාලික වූ පණිවිඩය නැවතත් සහතික කිරීමක් ලෙස වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ට හෙළිදරව් කරන ලදි. මුහම්මද් ﷺ තුමාණන් යනු දෙවියන්වහන්සේ විසින් එවන ලද අවසාන වක්තෘවරයා යැයි දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයටම මුස්ලිම්වරුන් විශ්වාස කරති.

> ﴾ *මුහම්මද් නුඹලාගේ කිසිවෙකුගේ පියා නොවේ. ඔහු දෙවියන්වහන්සේගේ වක්තෘවරයා වේ. තවද ඔහු වක්තෘවරුන්ගෙන් අවසාන වක්තෘවරයා වේ..* ﴿
> *(අල් කුර්ආනය 33:40)*

සියලුම ධර්මදූතයන් හා වක්තෘවරුන් මවනු ලැබූ මනුෂ්‍යයන් බවත්, ඔවුන් කිසිවෙකුටත් දෙවියන්වහන්සේ සතු දිව්‍යමය ගුණාංගයන් කිසිවක් පිහිටා නොමැති බවත් මුස්ලිම්වරුන් විශ්වාස කරති.

## (5) විනිශ්වය දිනය ගැන විශ්වාස කිරීම

මිනිසුන්ගේ විශ්වාසයන්ට හා ක්‍රියාවන්ට අනුව දෙවියන්වහන්සේගේ විනිශ්වය ලබා දීම සඳහා ඔවුන්ව මළවුන්ගෙන් නැගිටවනු ලබන විනිශ්වය දිනය (මළවුන්ගෙන් නැගිටවනු ලබන දිනය) පිළිබඳව මුස්ලිම් වරුන් විශ්වාස කරති.

## (6) අල් - කදර් පිළිබඳව විශ්වාස කිරීම

මුස්ලිම් භක්තිකයින් අල්කදර් පිළිබඳව විශ්වාස කරති. එනම්, දෙවියන්වහන්සේ විසින් කලින් නියම කළ පරිදි දෛවයෙන් නියම වූ ආකාරයට සියලුම දේ සිදු වන බවයි. මෙයින් අදහස් වන්නේ මිනිසාට තනි කැමැත්තකින් කිසිවක් කළ නොහැකි බව නොවේ එනම් දෙවියන්වහන්සේ විසින් මිනිසාට ස්ව කැමැත්ත සඳහා ඉඩ දී ඇති බවත් ඔවුනට නිවැරදි හෝ වැරදි දෑ තෝරා ගත හැකි අතර ඔවුන්ගේ තේරීමට ඔවුන් වග කිව යුතු බවත්, මුස්ලිම්වරුන් විශ්වාස කරති.

දෙවියන්වහන්සේගේ පෙර නියමයන්ට අනුව සියල්ල සිදු වන බව විශ්වාස කිරීම යන්නට කරුණු හතරක් අඩංගු වෙයි.

(1) දෙවියන්වහන්සේ සියල්ල දනී. සිදු වූයේ කුමක්ද යන්නත් ඔහු දනී. (2) සිදු වී අවසන් වූ සියලු දේද, සිදුවන්නට යන සියලු දේද, දෙවියන්වහන්සේ සටහන් කර ඇත. (3) දෙවියන්වහන්සේ විසින් සිදු විය යුතු යැයි සිතන්නේ කුමක්ද, එය සිදු වෙයි. ඔහු සිදු විය යුතු නොවේ යැයි සිතන කිසිවක් සිදු නොවෙයි. (4) දෙවියන්වහන්සේ යනු සියලුම දෑහි මැවුම් කරුවාය.

## අල් - කුර්ආනය හැර වෙනත් ශුද්ධ වූ ප්‍රභවයන් කිසිවක් තිබේද?

ඔව්. සුන්නාහ් (වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් ප්‍රකාශ කළ, සිදු කරන ලද හා අනුමත කරන ලද දෑ) යන්න ඉස්ලාමයෙහි දෙවන ප්‍රභවයයි. සුන්නාහ්, හදීස් වලින් සමන්විත වන අතර ඒවා වක්තෘ මුහම්මද් ﷺ තුමාගේ අනුගාමිකයන් විසින් ඉතා විශ්වාසදායි ලෙස වාර්තා කරන ලද දේය. සුන්නාහ් පිළිබඳව විශ්වාස කිරීම ඉස්ලාමයෙහි මූලික විශ්වාසයකි.

## වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ගේ ප්‍රකාශයන් සඳහා උදාහරණයන්

* {දේව විශ්වාසවන්තයන්, ඔවුන් එකිනෙකා කෙරෙහි දක්වන ආදරය, කරුණාව හා දයාව යන සියල්ල එක් ශරීරයක් බඳුය. එහි එක් කොටසක යම් කිසි අසනීපයක් තිබේ නම්, මුළු ශරීරයටම නින්දනොයාම හා උණ ගතිය බලපානු ඇත.}[1]

* { දේව විශ්වාසය අතින් ඉතාමත් අංග සම්පූර්ණ පුද්ගලයා වන්නේ ඔවුන් අතුරින් යහ ගුණ දම් වලින් පිරිපුන්ම පුද්ගලයාය. ඔවුන් අතුරින් ද උසස්ම වන්නේ තම බිරියන්ට වඩාත්ම යහපත් වන පුද්ගලයන්ය. }[2]

* {යමෙකු තමාටම ආදරය කර ගන්නා තරමට තම සොහොයුරාටත් ආදරය කරනතාක් ඔබලා අතුරින් කිසිම කෙනෙක් (සම්පූර්ණ වශයෙන් ) දේව විශ්වාස වන්තයෙකු නොවේ.}[3]

---

(1) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් #2586 සහ සහීහ් අල් බුහාරි #6011

(2) සඳහන් වී ඇත්තේ මුස්නද් අහමද් #7354 සහ අල් තිර්මිදී #1162

(3) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරි #13 සහ සහීහ් මුස්ලිම් #45

* {කරුණාවන්ත වූවන් මහා කාරුණික වූ දෙවියන්වහන්සේගේ කරුණාවට පාත්‍ර වේ. මෙලොව වසන්නන්ට කරුණාව දක්වන්න. එවිට දෙවියන්වහන්සේ ඔබ කෙරෙහි කරුණාවන්ත වනු ඇත.}[1]

* {ඔබගේ සොහොයුරාට සිනහවකින් සංග්‍රහ කිරීම පුන්‍ය කර්මයකි..........}[2]

* {යහපත් වචනයක් කථා කිරීම පුන්‍ය කර්මයකි.}[3]

* {දෙවියන්වහන්සේ කෙරෙහි සහ අවසාන දිනය (විනිශ්චය දිනය) පිළිබඳව විශ්වාස කරන ඕනෑම අයෙක් ඔහුගේ අසල් වැසියාට යහපත් විය යුතුයි.}[4]

* {දෙවියන්වහන්සේ ඔබගේ පෙනුමෙන්වත්, ඔබගේ ධනයෙන්වත් ඔබව විනිශ්චය කරන්නේ නැත. නමුත්, ඔහු ඔබගේ හදවත තුළටත්, ඔබගේ ක්‍රියාවන්වලටත් සැළකිල්ල යොමු කරයි.}[5]

* {කම්කරුවන්ට ඔවුන්ගේ දහඩිය වියළීමට පෙර ඔවුන්ගේ වැටුප ලබාදෙන්න.}[6]

* {එක් මගක් දිගේ ඇවිදගෙන ගිය පුද්ගලයෙකුට පිපාසයක් ඇතිවිය. ළිඳක් කරා පැමිණි ඔහු එයට බැස, කුස පුරා ජලය පානය කර ගොඩට පැමිණියේය. එවිට පිපාසය නිසා දිව පිටතට එල්ලෙමින් තිබූ බල්ලෙක් ඌගේ පිපාසය නිවා ගැනීම සඳහා මඩ ස්වල්පයක් ලෙවකනු ඔහු දුටුවේය. "මෙම බල්ලාත් මා පෙළුනා වැනිම වූ අධික පිපාසයකින් පෙළේ" යැයි පැවසූ එම මිනිසා නැවතත් ළිඳට බැස, තම පාවහන් ජලයෙන් පුරවා ගෙනැවිත් බල්ලාට පානය කිරීමට දුන්නේය. එබැවින්, දෙවියන්වහන්සේ ඔහුට ස්තුති කොට, ඔහුගේ පව් වලට සමාව දෙන ලදී.} කෙනෙකු මුහම්මද් තුමාණන්ගෙන්, "දෙවියන්වහන්සේගේ පණිවිඩකරුවාණෙනි, සතුන්ට කරුණාව දැක්වීම වෙනුවෙන් අප හට යහපත් ප්‍රතිඵල ලැබෙයිද?" යැයි අසන ලදී. එවිට, එතුමා 'සෑම සජීවී සත්වයෙකුටම හෝ මිනිසෙකුටම කරුණාව දැක්වීම වෙනුවෙන් තිළිණ තිබේ' යැයි පැවසූහ.[7]

## විනිශ්චය දිනය පිළිබඳව ඉස්ලාමය පවසන්නේ කුමක්ද?

ක්‍රිස්තියානි භක්තිකයන් සේම, මුස්ලිම්වරුන්ද විශ්වාස කරනුයේ මෙලොව ජීවිතය මෙයට පසුව ඇති ජීවිතය සඳහා වූ පූර්ව සූදානම් කිරීමක් ලෙස බවයි. සෑම පුද්ගලයෙකුටම මෙලොව ජීවිතය මරණින් මතු ජීවිතය සඳහා වූ පරීක්ෂණයකි. සකළ විශ්වයම විනාශ වූ පසුව, දෙවියන්වහන්සේ විසින් විනිශ්චය සඳහා මියගිය අය නැවත වරක් මරණින් නැගිටුවනු ලැබේ. මෙම දිනය සදාකාලික වූ ජීවිතයක ආරම්භක දිනය වේ.

---

(1) සඳහන් වී ඇත්තේ අල් තිර්මිදී # 1924 සහ අබූ දාවුද් # 4941
(2) සඳහන් වී ඇත්තේ අල් තිර්මිදී # 1956
(3) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 1009 සහ සහීහ් අල් බුහාරි #2986
(4) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් #48 සහ සහීහ් අල් බුහාරි #6019
(5) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 2564
(6) සඳහන් වී ඇත්තේ ඉබ්න් මාජාහ් #45
(7) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් #2244 සහ සහීහ් අල් බුහාරි #2466

*තවද දේව විශ්වාසය කර යහකම් කරන අය, ස්වර්ගයේ පදිංචිකරුවෝ වෙයි. ඔවුහු සදාකල් එහි රැඳී සිටිති.*
(අල් කුර්ආනය 2:82)

නමුත් යම් අයෙකු, "දෙවියන්වහන්සේ හැර සත්‍ය වූ අන් දෙවි කෙනෙකු නොමැත. මුහම්මද් ﷺ තුමාණන් දෙවියන්වහන්සේගේ දූතයෙකි (වක්තෘවරයාය)" යන විශ්වාසයෙන් තොරව මිය ගියහොත්, එනම් මුස්ලිම්වරයෙකු නොවී නම්, ඔහුට සදාකාලිකවම ස්වර්ගය අහිමි වන අතර, දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට ඔවුන්ව නිරයේ ගින්නට නියම කරනු ලැබේ.

*(එකම දෙවියන්වහන්සේට අවනත වීමේ මාර්ගය වන) ඉස්ලාමය හැර (කවර හෝ අන්‍ය) දහමක් අනුගමනය කරන්නෙකු වේද, ඔහුගේ එම දහම කිසිවිටකත් පිළිගනු නොලැබේ. තවද ඔහු පරලොවේදී පාරාජිතයින්ගෙන් කෙනෙකු වේ.*
(අල් කුර්ආනය 3:85)

එසේම, දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට,

*දේව විශ්වාසය නොකරන්නන්ද තවද දේව විශ්වාසය නොකරන්නන් ලෙස මියගිය අයද සකල මහපොළොවම රනින් වසා ගැලවීමක් සඳහා වන්දියක් වශයෙන් එය ඉදිරිපත් කොට සිටියද නියතවශයෙන්ම ඔවුනට පරලොවදී නින්දිත දඬුවම් ඇත. තවද ඔවුනට පිහිට වීමට කිසිවකුද නැත.*
(අල් කුර්ආනය 3:91)

ඉස්ලාමය යනු හොඳ දහමක්. නමුත්, මා ඉස්ලාමය වැළඳගතහොත් මාගේ පවුල, හිත මිතුරන් හා අනෙකුත් පුද්ගලයන් මා හට හිරි හැර කරනු ඇති, මා විහිළුවකට ලක් කරනු ඇති. එබැවින්, මා ඉස්ලාමය වැළඳ නොගතහොත්, මා හට ස්වර්ගයට ඇතුළු විය හැකි වේද? මා හට නිරයේ වේදනාවෙන් ආරක්ෂාව ලැබේද? දෙවියන්වහන්සේ එයට දී ඇති පිළිතුර පහත වාක්‍යයෙන් ප්‍රකාශ වේ. ***ඉස්ලාමය හැර (කවර හෝ අන්‍ය) දහමක් අනුගමනය කරන්නෙකු වේද, ඔහුගේ එම දහම කිසිවිටකත් පිළිගනු නොලැබේ. තවද ඔහු පරලොවේදී පරාජිතයින්ගෙන් කෙනෙකු වේ***

මිනිසුන් ඉස්ලාමය වෙත කැඳවීම සඳහා දෙවියන්වහන්සේ විසින් මුහම්මද් තුමාණන්ව එවීමෙන් පසුව, අන් කිසිඳු ආගමක් විශ්වාස කිරීම දෙවියන්වහන්සේ විසින් කෙලෙසක වත් පිළිගනු නොලැබේ. දෙවියන්වහන්සේ යනු අපගේ මැවුම් කරුවාද, අපගේ පෝෂකයාදවේ. ඔහු මෙම පෘථිවියෙහි පවත්න සියලුම දේ අප සඳහා මවා ඇත. අප භුක්ති විඳින සියලු යහපත් දේවල් සහ ආශීර්වාදයන් අපට ලැබෙන්නේ ඔහුගෙන්මය. එබැවින්, මේ සියල්ලට පසුවත් යමෙක් දෙවියන්වහන්සේ පිළිබඳව විශ්වාස කිරීම හෝ ඔහුගේ වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් පිළිබඳව විශ්වාස කිරීම හෝ දෙවියන්වහන්සේ පහළ කළ ආගම පිළිබඳව විශ්වාස කිරීම ප්‍රතික්ෂේප කරයි නම්, ඔහුට හෝ ඇයට මරණින් මතු ජීවිතයේදී දඬුවම් ලබා දීම සාධාරණ වෙයි. ඇත්තෙන්ම, කුර් ආනයෙහි (51:56) දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට අපව මවනු ලැබ ඇති ප්‍රධාන අරමුණ වන්නේ දෙවියන්වහන්සේට පමණක් නැමදීම සහ ඔහුට පමණක් කීකරු වීමටය.

අද දින අප ජීවත් වන ජීවිතය ඉතාමත්ම කෙටි කාලීන ජීවිතයකි. දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට, විනිශ්චය දිනයේදී දේව විශ්වාසය නොකළ පුද්ගලයන් සිතනුයේ ඔවුන් මෙලොවදී ගත කළ ජීවිතය එක් දිනක් පමණක් එසේත් නොමැති නම් එක් දිනයකිනුත් කොටසක් පමණක් බවයි.

*﴾නුඹලා කොපමන අවුරුදු ගණනක කාලයක් මහ පොළවෙහි වාසය කළේ දැයි දෙවියන්වහන්සේ අසාවි. එවිට නුඹලා අපි දවසක් හෝ දවසකින් කොටසක් වාසය කළෙමුයි පවසාවි....﴿*
*(අල් කුර්ආනය 23:112-113)*

එසේම, දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට,

*﴾නුඹලාව අපි මැව්වේ නිකමට යැයි නුඹලා සිතන්නේද ? නුඹලා ආපසු (මරණින් පසුව) කැඳවනු නොලබන්නේ යැයි නුඹලා සිතන්නේද ? සත්‍ය අධිපතියාණන්වූ දෙවියන්වහන්සේ උත්කෘෂ්ඨය. නැමදීමට සුදුසු ඔහු හැර වෙනත් දෙවි කෙනෙක් නැත...﴿*
*(අල් කුර්ආනය 23:115-116)*

මෙලොව ජීවිතය මරණින් මතු ජීවිතය සමග සංසන්දනය කිරීමේදී මුහම්මද් තුමාණන් පවසා ඇත්තේ මෙසේය. {මරණින් මතු ජීවිතය සමග සැසඳීමේදී මෙලොව ජීවිතයෙහි වටිනාකම හරියට ඔබ මුහුද තුළට ඔබගේ ඇඟිල්ල ඔබා එය පිටතට ගත හොත් මුහුදෙන් ඔබගේ ඇඟිල්ලට ගත හැකි දෙය තරම් වෙයි}. මෙහි අර්ථය වන්නේ, මරණින් මතු ජීවිතය සමග සැසඳීමේදී මෙලොව ජීවිතයෙහි වටිනාකම, මහ මුහුද සමග සැසඳීමේදී ජල බිංදු කිහිපයක් වැනි බවයි.

## යම් පුද්ගලයෙක් මුස්ලිම් වරයෙකු වන්නේ කෙසේද?

"ලා ඉලාහ ඉල්ලල්ලාහ්, මුහම්මදුර් රසූලුල්ලාහ්" යනුවෙන් ස්ථිර විශ්වාසයකින් යුතුව පැවසීම මඟින් ඉතා පහසුවෙන් යමෙකු ඉස්ලාමය වැළඳගන්නා අතරම, ඔහු මුස්ලිම්වරයෙකු බවට පත් වේ. මෙම ප්‍රකාශයෙහි අදහස වන්නේ, " දෙවියන්වහන්සේ (අල්ලාහ්) හැර සත්‍ය වූ වෙනත් දෙවි කෙනෙකු නොමැත. මුහම්මද් ﷺ තුමාණන් යනු දෙවියන්වහන්සේගේ දූතයෙකි (වක්තෘවරයෙකි)" යන්නයි. මෙම ප්‍රකාශයෙහි පළමු කොටස වන "දෙවියන්වහන්සේ හැර සත්‍ය වූ වෙනත් දෙවි කෙනෙකු නොමැත" යන්නෙහි අර්ථය වන්නේ දෙවියන්වහන්සේට හැර අන් කිසිඳු අයෙකුට වැඳුම් ලැබීමට හිමිකමක් නොමැති බවත්, දෙවියන්වහන්සේට හවුල්රුවෙකු හෝ දරුවෙකු නොමැති බවත්ය. මුස්ලිම්වරයෙකු වීම සඳහා යමෙකු,

* ශුද්ධ වූ කුර්ආනය යනු දෙවියන්වහන්සේ විසින් හෙළිදරව් කරන ලද දෙවියන්වහන්සේගේම වදන් යැයි විශ්වාස කළ යුතුය.
* විනිශ්චය දිනය (මළවුන්ගෙන් නැගිටු වීමේ දිනය) සත්‍යයක් බවත්, දෙවියන්වහන්සේ අල් කුර්ආනයේ පොරොන්දු වී ඇති ආකාරයටම එම දිනය පැමිණෙන බවත් විශ්වාස කළ යුතුය.
* ඔහුගේ හෝ ඇයගේ ආගම ඉස්ලාමය බව පිළිගත යුතුය.
* දෙවියන්වහන්සේ හැර යම් කෙනෙකුට හෝ යම් දෙයකට වන්දනාමාන නොකළ යුතුය.

වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් පවසා ඇති ආකාරයට: {යමෙකු පසුතැවිලිවී දෙවියන්වහන්සේ වෙත හැරෙයි නම්, එයින් දෙවියන්වහන්සේ ඉතා සතුටට පත් වෙයි. එසේ නොමැතිව මෙවැනි පුද්ගලයෙකු නොවිය යුතුය. එනම්, එම පුද්ගලයා ඔටුවා සමග කාන්තාරයක ගමන් කරන විට ඌ ඔහුගේ ආහාර හා ජලයද රැගෙන ඔහුගෙන් ඉවතට පැනදුවයි. නැවත ඌ ලැබේ යැයි ඔහු තුළ ඇති බලාපොරොත්තුව සියල්ල නැති වී ගිය පසු ඔහු ගහක් අසලට පැමිණ (මරණය අපේක්ෂාවෙන්) එම ගස් සෙවනේ සැතපෙයි. හේතුව, ඔහු තම ඔටුවා සෙවීමේ බලාපොරොත්තු සියල්ල අතහැර දැමීමයි. එම තත්වයෙන් (මානසික පීඩනයෙන් ) සිටින අවස්ථාවේ හදිසියේම ඔහුගේ ඔටුවා ඔහු ඉදිරියේ සිටී ! උගේ රැහැන්පටින් අල්ලා ගන්නා ඔහු අධික ප්‍රීතිය හේතුවෙන් මෙසේ කෑ ගසයි. “ අහෝ දෙවියනි, ඔබ මාගේ සේවකයෙක්. මමයි ඔබගේ දෙවියන්” ඔහුගේ මෙම වැරදිම සිදුවුයේ ඔහුගේ ප්‍රීතිය අධික විම හේතුවෙනි.}[1]

“දෙවියන්වහන්සේ හැර සත්‍යවූ වෙනත් දෙවි කෙනෙකු නොමැත. එසේම මුහම්මද් යනු දෙවියන්වහන්සේගේ දූතයාය (වක්තෘවරයාය) යන ප්‍රකාශය දොරටුවක කැටයම් කර ඇති ආකාරයයි මේ.



## කුර්ආනය කුමක් පිළිබඳවද?

අල් කුර්ආනය, එනම් දෙවියන්වහන්සේ විසින් අවසාන වශයෙන් හෙළිදරව් කරන ලද දෙවියන්වහන්සේගේ වදන් බව සෑම මුස්ලිම්වරයෙකුගේම විශ්වාසයෙහි සහ ක්‍රියාවන්හි ප්‍රාථමික ප්‍රභවය වේ. මනුෂ්‍යයාට අවශ්‍යය සියලුම විශයයන් පිළිබඳව එහි සඳහන් වෙයි. ප්‍රඥාව, ධර්මය, නැමදීම, ගනුදෙනු, නීතිය...... ඇතුළු තවත් බොහෝ දෑ නමුත්, එහි මූලික තේමාව වන්නේ දෙවියන්වහන්සේ හා ඔහුගේ මැවීම් අතර පවත්නා සම්බන්ධතාවයයි. එසේම, ඒ මඟින් සාධාරණ වූ සමාජයකට අවශ්‍යය මගපෙන්වීම් සහ විස්තරාත්මක ඉගැන්වීම්ද, මිනිසුන්ගේ මනා හැසිරීම්, සාධාරණ ආර්ථික ක්‍රමය යනාදියද අප හට ලබා දී ඇත.

මුහම්මද් ﷺ තුමාණන්ට අල් කුර්ආනය හෙළිදරව් කරනු ලැබුවේ අරාබි භාෂාවෙන් බව අවධානයට ලක් කරන්න. එබැවින් ඉංග්‍රීසි භාෂාවෙන් හෝ අනෙකුත් ඕනෑම භාෂාවකින් පරිවර්ථනය කරන ලද කුර්ආනය එහි සත්‍ය පිටපත නොවේ. එය, එහි අර්ථය වෙනත් භාෂාවකට පරිවර්ථනය කරන ලද්දක් පමණයි.

(1) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් #2747 සහ සහීහ් අල් බුහාරි #6309

## මුහම්මද් ﷺ නම් වූ වක්තෘවරයා කව්රුන්ද?

මුහම්මද් ﷺ තුමාණන් ක්‍රි.ව.570දී මක්කාවේදී උපත ලැබූහ. එතුමා ඉපදීමට පෙරම පියාත්, එතුමා ඉපදී කෙටි කළකින්ම මවත් මිය ගිය බැවින් එතුමාව හදා වඩා ගන්නා ලද්දේ කුරෙෂි නම් ඉතා උසස් කුළයකට අයත් එතුමාගේ ලොකු පියා විසිනි. ඔහු හැදී වැඩුණේ නූගත්, ලියන්න, කියවන්න නොදත් කෙනෙකු ලෙසයි. එතුමාගේ මරණය දක්වාම ඔහු අක්ෂර ඥානයෙන් තොර වූ කෙනෙකු විය. වක්තෘවරයෙකු ලෙස එතුමාගේ ධර්ම ප්‍රචාරයට පෙර සිටම එතුමාගේ අනුගාමිකයන්ද විද්‍යාව පිළිබඳව හා අක්ෂර ඥානයෙන්ද තොර වූ අය වූහ.

එතුමා වයසින් වැඩෙත්ම සත්‍යවාදී, අවංක, විශ්වාසවන්ත, ත්‍යාගශීලී හා අව්‍යාජ කෙනෙකු ලෙස ප්‍රසිද්ධියට පත්විය. එතුමා ඉතාමත්ම විශ්වාසවන්ත අයෙකු වූ බැවින් ජනයා ඔහුට "විශ්වාසවන්තයා" [1] යැයි නම් තැබූහ. මුහම්මද් ﷺ තුමාණන් ඉතා ධාර්මිෂ්ඨ අයෙකු වූ අතර එතුමාගේ සමාජයේ තිබූ ප්‍රතිමා වන්දනය හා සමාජ පරිහ-ානිය අතිශයෙන්ම පිළිකුල් කරන ලදී.

එතුමාගේ හතලිස්වන වියේදී, ජිබ්රීල් නම් සුරදූතයා මාර්ගයෙන් දෙවියන්වහන්සේගේ පළමු දේව වාක්‍ය ඔහුට හෙළිදරව් වුණි. මෙම දේව වාක්‍යයන් හෙළිදරව් වීම වසර විසි තුනක් තිස්සේ සිදු වූ අතර ඒවා සියල්ලෙහි එකතුව අල් කුර්ආනය නම් වේ.



මදීනාවේ ඇති වක්තෘ මුහම්මද් තුමාණන්ගේ පල්ලිය

එතුමා අල් කුර්ආනය පාරායනා කිරීම හා එතුමාට හෙළිදරව් වූ සත්‍ය මිනිසුන්ට දේශනා කිරීම ආරම්භ කළ වහාම එතුමාත්, එතුමාගේ අනුගාමිකයිනුත් දේව විශ්වාසය නොකරන්නන්ගේ වධ හිංසා වලට ගොදුරු වූහ. එම වධ හිංසාවන් ඉතාමත් දරුණු හා භයානක වූ බැවින් ක්‍රි.ව. 622 දී දෙවියන්වහන්සේ විසින් ඔවුනට සංක්‍රමණය වන්නැයි අණ කරන ලදි. මක්කාවේ සිට උතුරට සැතපුම් 260ක් පමණ දුරින් වූ මදිනාවට සිදු කරන ලද මෙම සංක්‍රමණය මුස්ලිම් දින දර්ශනයෙහි ආරම්භය සටහන් කරයි.

(1) සඳහන් වී ඇත්තේ මුස්නද් අහමද් #15078

වසර කිහිපයකට පසු වක්තෘ මුහම්මද් ﷺ තුමාණන්ට හා එතුමාගේ අනුගාමිකයන්ට නැවතත් මක්කාවට යෑමේ හැකියාව උදා වූ අතර එහිදී ඔවුන් තම සතුරන්ට සමාව දෙන ලදි. මුහම්මද් තුමා මිය යෑමට පෙර, එතුමාගේ හැටතුන්වෙනි වියේදී අරාබි අර්ධද්වීපයේ වැඩි කොටසක්ම මුස්ලිම්වරුන් බවට පත් වූහ. එසේම, එතුමාගේ අභාවයෙන් ශතවර්ෂයක් තුළදී බටහිර දෙසින් පිහිටි ස්පාඤ්ඤයටත්, නැගෙනහිරින් චීනය තරම් දුර ඈතකටත් ඉස්ලාමය පැතිරුණි. මෙලෙස ඉතා වේගවත්ව හා සාමකාමීව ඉස්ලාමය පැතිර යෑමට ඉස්ලාමයෙහි සත්‍යතාවය සහ පැහැදිලි බව බලපාන ලදී. ඉස්ලාමය මඟින් නැමදීමට සුදුස්සා වූ එකම දෙවියන්වහන්සේව විශ්වාස කරන මෙන් ආරාධනා කරයි.

වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් අවංකවූත්, ධර්මිෂ්ඨවූත්, කරුණාවන්තවූත්, දයාබරවූත්, සත්‍යවාදිවූත් නිර්භීත මිනිසෙකු සඳහා වන සර්ව සම්පූර්ණවු උදාහරණයකි. එතුමාණන් මනුෂ්‍යයෙකු වුවත්, එතුමා සියළු නරක ගතිගුණ වලින් ඉවත් කරනු ලැබූවෙකු වන අතරම දෙවියන්වහන්සේ වෙනුවෙනුත් මරණින් මතු ජීවිතයේදි දෙවියන්වහන්සේගෙන් ලැබෙන යහඵල සඳහාත් මහත් පරිශ්‍රමයක් දැරූවෙකි. එසේම, එතුමාග් සියළු ක්‍රියාවන්හිදීත් ගනුදෙනු වලදීත් එතුමා නිරතුරුවම දෙවියන්වහන්සේ පිළිබඳව සිත්හි තබාගත් අතරම දෙවියන්ට බිය බැති වූහ.

වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් පිළබඳව වැඩිදුර තොරතුරු සදහා කරුණාකර www.islam-guide.com/muhammad යන වෙබ් අඩවියට පිවිසෙන්න.

## ඉස්ලාමයෙහි ව්‍යාප්තිය විද්‍යාවෙහි දියුණුවට බලපාන ලද්දේ කේසේද?



මිනිසාට තම බුද්ධියේ බලතල හා නිරීක්ෂණයන් ප්‍රයෝජනයට ගැනිමට ඉස්ලාමය මඟින් නියම කරයි. ඉස්ලාමය ව්‍යාප්තවී කෙටි වසර කිහිපයක් තුළදීම විශිෂ්ඨ ශිෂ්ඨාචාරයන් සහ විශ්ව විද්‍යාල වැජඹුනි. පෙරදිග හා අපරදිග අදහස්වල සංකළනයත්, නව අදහස් හා පැරණි අදහස්වල සංකළනයන් මඟින් වෛද්‍ය විද්‍යාව, ගණිතය, භූගෝල විද්‍යාව, ගෘහ නිර්මාණ ශිල්පය, කළාව, සාහිත්‍යය හා ඉතිහාසය වැනි අංශවල විශාල අභිවෘද්ධියක් ඇති විය. වීජ ගණිතය අරාබි ඉලක්කමෙහි හා බිංදුව ඉලක්කමෙහි සංකල්පය (ගණිතයෙහි අභිවෘද්ධියට අත්‍යාවශ්‍ය වූ) ඉතාමත් වැදගත් රීතීන් රැසක් මුස්ලිම් ලෝකයේ සිට මධ්‍යතන යුරෝපයට පැතිරුණි.



තරික්සුව - The astrolabe (තරු මාලිමාව) : මුස්ලිම්වරුන් විසින් වැඩිදියුණු කරන ලද ඉතාමත් වැදගත් විද්‍යාත්මක උපකරණයක් වෙන මෙය මෑතක් වන තුරුම බටහිර රටවල් වල බහුලව ප්‍රයෝජනයට ගැණුනි.

මුස්ලිම් වෛද්‍යවරුන් ශල්‍යකර්ම සඳහා දැඩි අවධානයක් යොමුකළ අතර, මෙම පැරණි ලේඛනයෙහි සඳහන්වන ආකාරයේ ශල්‍ය උපකරණ රාශියක් ඔවුන් විසින් සොයා ගන්නා ලදි.



යුරෝපියයන්ගේ විවිධ සොයාගැනීම් සඳහා ඉවහල් වූ හා මුහුදු ගමන් සඳහා උපකාරී වුවා යැයි සැළකිය හැකි තරික්සුව (astrolabe), උස මැනීමේ උපකරණය (quadrant) වැනි දියුණු උපකරණ සහ දියුණු නාවික සිතියම් යනාදිය මුස්ලිම්වරුන් විසින් වැඩිදියුණු කරන ලද ඒවා විය.

## මුස්ලිම්වරුන් ක්‍රිස්තුස්වහන්සේ ගැන සිතනුයේ කුමක්ද?

මුස්ලිම්වරුන් යේසුස් ක්‍රිස්තුස්වහන්සේව (එතුමාට සාමය අත්වේවා) ඉතාමත් ගරු කොට සළකති. ඔවුන් එතුමාව සලකනුයේ මිනිස් වර්ගයා වෙනුවෙන් දෙවියන්වහන්සේ විසින් එවන ලද විශිෂ්ඨතම වක්තෘවරයන්ගෙන් කෙනෙකු ලෙසයි. අල් කුර්ආනය මඟින් එතුමා කන්‍යාවකට උපත ලද බව තහවුරු කරමින් කුර්ආනයෙහි එක් පරිච්ඡේදයක් 'මර්යම්' (මරියා තුමිය) ලෙසද නම්කොට ඇත. කුර්ආනයෙහි ක්‍රිස්තුස්වහන්සේගේ උපත මෙසේ විස්තර කරයි.

*《 මරියම්! දෙවියන්වහන්සේ තමාගේ පණිවිඩයක් පිළිබඳව ශුභ ආරංචියක් ඔබ වෙත එවයි. ඔහුගේ නම මරියම්ගේ පුත්‍රයා මසීහ් ඊසා (යේසුස්) වනු ඇත. ඔහුට මෙලොවදීත් පරලොවේදීත් බොහෝ ගරු සම්මාන ලැබෙනු ඇත. ඔහු දෙවියන්වහන්සේට වඩාත් සමීප වූවන් අතරද වනු ඇතැයි මලක්වරුන් කී සැටි සිහිපත් කරනු. තවද තොටිල්ලේ සිටින විට මෙන්ම වැඩි පිරිපුන් වූ විටද ඔහු ජනයාව අමතනු ඇත. තවද ඔහු ධාර්මිෂ්ඨ කෙනෙකු වේ යැයිද කීහ. (මෙය ඇසූ මරියම්) මාගේ පරමාධිපතියාණෙනි, කිසිදු පුරුෂයෙකු මා ස්පර්ශ කොටවත් නැතිවිට මට පුත්‍රයෙකු ලැබෙන්නේ කෙසේදැයි විමසුවාය. එය එසේම වේ. දෙවියන්වහන්සේ තමාට කැමති දෙය මවයි. ඔහු යමක් තීරණය කළ විට, එය එසේම වේවා යැයි පැවූ විට එය එසේම වේ. 》*

*(අල් කුර්ආනය 3:45-47)*

පියෙකු නොමැතිව ආදම්ව බිහිකළ ලෙසම දෙවියන්වහන්සේගේ අණ පරිදි ක්‍රිස්තුස්වහන්සේද ආශ්චර්යමත් ලෙස උපත ලැබූහ.

දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට :

> *දෙවියන්වහන්සේ හා ආදම්ගේ ( උත්පත්තයෙහි) සබඳතාවය මෙන් යේසුස්ගේ (උත්පත්තයෙහි) ද සමානත්වයක් පවතියි. ඔහු (දෙවියන්වහන්සේ) ආදම්ව පසින් මවා පසුව ඊට "ඇති වනු " යැයි පැවසීය. එවිට ඔහු ඇති විය*
> (අල් කුර්ආනය 3:59)

වක්තෘවරයෙකු ලෙස එතුමාගේ ධර්ම ප්‍රචාරය අතර තුරදී ක්‍රිස්තුස්වහන්සේ බොහෝ ප්‍රාතිහාර්යයන් පෙන්වා ඇත. ක්‍රිස්තුස්වහන්සේ පවසන ලදැයි දෙවියන්වහන්සේ අපට මෙලෙස කියයි.

> *මම නුඹලාගේ පරිමාධිපතිගෙන් පැහැදිළි සංඥවක් ඇතිව නුඹලා වෙත පැමිණියෙමි. නියතවශයෙන්ම මම නුඹලාට මැටියෙන් කුරුල්ලෙකුගේ අනුරු- වක් තනා ඌට හුස්ම පිඹිමි. එවිට ඌ දෙවියන්වහන්සේගේ අවසරයෙන් කුරුල්ලේකු වේ. තවද මම උපතින් අන්ද වූවන් සහ ලාදුරු රෝගීන් සුවපත් කරමි. තවද මම දෙවියන්වහන්සේගේ අණින් මළවුන්ට ප්‍රාණය දෙමි. තවද නුඹලා අනුභව කරන්නේ කුමක්ද? නුඹලා සිය නිවැස්වල ගබඩාකර ඇත්තේ කුමක්ද? යන්න මම නුඹලාට දැනුම් දෙමි....*
> (අල් කුර්ආනය 3:49)

මුස්ලිම්වරුන් විශ්වාස කරනුයේ ක්‍රිස්තුස්වහන්සේව කුරුසියේ ඇණ නොගැසූ බවයි. ක්‍රිස්තුස්වහන්සේව කුරුසියේ තබා ඇණ ගැසීමට එතුමාගේ සතුරන් කුමන්ත්‍රණය කළත්, දෙවියන්වහන්සේ විසින් එතුමා ඉන් ආරක්ෂාකර දෙවියන්වහන්සේ කරා එතුමාව ඔසවා ගන්නා ලද බවත් ඔහුගේ ස්වරූපය වෙනත් මිනිසෙකුට ඇති කර එවිට, සතුරන් එම පුද්ගලයා ක්‍රිස්තුස්වහන්සේ යැයි සිතා ඔහුව අල්ලා කුරුසියේ ඇණ ගසා මරණයට පත් කරන ලද බවත් විශ්වාස කරයි. දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට :

> *දෙවියන්වහන්සේගේ වක්තෘවරයෙකු වූ මරියම්ගේ පුත් ඊසා නියතවශයෙන්ම අපි ඝාතනය කළෙමුයි ඔවුහු පැවසූහ. එහෙත් සැබැවින්ම ඔහුව ඝාතනය කළේවත් කුරුසයේ ඇණ තබා ගැසූවේවත් නැත. නමුත් (එහි සිටියෙකු) ඔහුගේ හැඩ රුවට සමාන කරන ලදී .*
> (අල් කුර්ආනය 4: 157)



ජෙරූසලමෙහි ඇති අක්සා මස්ජිදය (පල්ලිය)

මුහම්මද් ﷺ තුමාවත්, ක්‍රිස්තුස්වහන්සේවත් පැමිණියේ දෙවියන්වහන්සේව විශ්වාස කිරීම පිළිබඳව වන මූලික ආගමික සංකල්පය වෙනස් කිරීමට නොව එයට පෙර සිටි වක්තෘවරුන් විසින් දේශනා කරන ලද දේ තහවුරු කිරීමටත්, එම අදහස නැවතත් පණගැන්වීමටත් ය.[1]

## ත්‍රස්තවාදය පිළිබඳව ඉස්ලාමය කුමක් පවසයිද?

ඉස්ලාමය යනු කරුණාවෙහි ධර්මයක් වන අතර, එය ත්‍රස්තවාදය අනුමත නොකරයි. කුර්ආනයෙහි දෙවියන්වහන්සේ මෙසේ පවසා ඇත:

> ﴿*සත්‍යමාර්ගය උදෙසා ඔබට විරුද්ධව සටන් නොකළ අය කෙරෙහිද නුඹලාගේ ගෙවල්වලින් නුඹලාව පිටුවහල් නොකෙරූ අය කෙරෙහිද කරුණාව දැක්වීම හා ඔවුන් සමග සාධාරණව හැසිරීම දෙවියන්වහන්සේ වලක්වන්නේ නැත. දෙවියන්වහන්සේ සාධාරණවන්තයින් ප්‍රිය කරයි.*﴾
> *(අල් කුර්ආනය 60:8)*

වක්තෘ මුහම්මද් ﷺ තුමාණන් යුධ බටයන්ට කාන්තාවන්ව හා දරුවන්ව මැරීම තහනම් කිරීමට පුරුදුව සිටිහ.[2] එසේම එතුමා ඔවුන්ට මෙසේ උපදෙස් දෙන ලදි. {පාවා නොදෙන්න, අසාධාරණ නොවන්න, අළුත උපන් දරුවන් නොමරන්න}[3] එසේම, එතුමාණන් මෙසේද පවසා ඇත. {මුස්ලිම්වරුන් සමග ගිවිසුමකට එළඹ සිටින පුද්ගලයෙකුව මරා දමන කිසිම අයෙකුට ස්වර්ගයෙහි සුවඳ, එය හතලිස් වසරක් දක්වා පැවතියත්, ආඝ්‍රාහනය නොකරනු ඇත.}[4]

---

(1) දෙවියන්වහන්සේ විසින් යේසුස් ක්‍රිස්තුස්වහන්සේට ඉන්ජීල් නම් වූ ශුද්ධ වූ ග්‍රන්ථයක් හෙළිදරවු කළ බවත් එහි අඩංගු වූ සමහර කරුණු හා දෙවියන්වහන්සේගේ අනුශාසනාවන් දැනුදු නව තෙස්තමේන්තුවේ දක්නට ඇති බව මුස්ලිම්වරුන් විශ්වාස කරයි. නමුත් මෙයින් කියවෙන්නේ මුස්ලිම්වරුන් අද දක්නට ලැබෙන බයිබලය විශ්වාස කරන බව නොවේ. ඒ මන්දයත් අද දින අප සතුව ඇති බයිබලය දෙවියන්වහන්සේ විසින් පහළ කරන ලද ශුද්ධ වූ ධර්ම ග්‍රන්ථයෙහි සත්‍ය පිටපතම නොවේ. එය වෙනස්කර, එයට අළුත් තොරතුරු එක්කොට හා තිබුන තොරතුරු ඉවත්කොට ද වෙනසකට භාජනය කොට ඇත. ශුද්ධ වූ බයිබලයෙහි සංශෝධනයන් (The Holy Bible - Revise Standerd Virsion) සිදුකිරීමට පත්කර ඇති කමිටුව මගින්ද මෙය ප්‍රකාශයට පත්කොට ඇත. මෙම කමිටුවේ සාමාජිකයින් ලෙස විද්වතුන් තිස්දෙනෙකුගෙන් සමන්විත විය. එයට සංයෝගය දක්වන ආගමික නිකායයන් වල නියෝජිතයින් පනස්දෙනෙකුගෙන් සමන්විත වූ අනුශාසක මණ්ඩලයක සහයෝගය හා උපදෙස් මේ සදහා ලබාගන්නා ලදී. මෙම කමිටුව (The Holy Bible - Revise Standerd Virsion) එහි පෙරවදනෙහි පිටු අංක IV හි ප්‍රකාශ කරන ලද්දේ "සමහරක් විට මෙම සත්‍ය තොරතුරු සම්ප්‍රේෂණයේදී හානියට පත්ව ඇති බව පැහැදිළි වන අතර කිසිඳු වෙළුමකින් එයට සතුටුදායක ප්‍රතිසංස්කරණයක් ලබා දෙන්නේ නැත. මෙහිදී අපට කළ හැක්කේ සුදුසු විද්වතුන්ගේ මතයක් වන මුල් කෘතියෙහි ප්‍රතිසංස්කරණයක් ලෙස වියහැකි යැයි අනුගමනය කිරීම පමණි." එසේම එම කමිටුව මගින් පෙරවදනෙහි පිටු අංක VII හි මෙසේද සඳහන් කොට ඇත. "අතීත බලධාරීන් විසින් සැළකිය යුතු වෙනස්කිරීම්, තොරතුරු එක් කිරීම හා තොරතුරු ඉවත් කිරීම් සිදුකර ඇති බවට සටහන් එහි ඇතුළත් කොට තිබේ. (Mt 9.34; Mk 3.16; 7.4; Lk 24.32, 51,……) බයිබලයේ වෙනස්කිරීම් පිළිබඳව වැඩි දුර තොරතුරු සදහා www. Islam-guide.com/bible යන වෙබ් අඩවියට පිවිසෙන්න.

(2) සඳහන් වී ඇත්තේසහීහ් මුස්ලිම් #1744 සහ සහීහ් අල් බුහාරි #3015
(3) සඳහන් වී ඇත්තේසහීහ් මුස්ලිම් #1731 සහ අල් තිර්මිදී #1408
(4) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරි #3166 සහ ඉබ්න් මාජාහ් #2686

එසේම, වක්තෘ මුහම්මද් තුමාණන් ගින්දර යොදාගෙන දඬුවම් කිරීම තහනම් කොට ඇත.[1]

එතුමාණන් වරක් මිනී මැරීම මහා පාපයන්ගෙන් දෙවැන්න බවට[2] ලැයිස්තුගත කළ අතර {විනිශ්චය දිනයේදී මිනිසුන් අතර පළමුවෙන්ම විනිශ්චය කරනු ලබන්නේ ලේ වැගිරීම් පිළිබඳවයි}[3] යනුවෙන්ද අනතුරු ඇඟවූහ.[4]

මුස්ලිම්වරුන්ව සතුන්ට පවා කරුණාවන්ත වීමට දිරිගැන්වුන අතර සතුන්ට හිංසා කිරීම තහනම් කරන ලදි. වරක් වක්තෘ මුහම්මද් තුමාණන් මෙසේ පැවසූහ. { කාන්තාවක් පූසෙකු මිය යනතුරුම ඌව සිර කොට තැබූ බැවින් ඇයට දඬුවම් ලැබුණි. මෙම හේතුව මත ඇයව නිරයට නියම කරන ලදී. එම පූසා හිරකර තබාගත් කාලය තුළදී ඇය එම පූසාට ආහාර පාන කිසිවක් නොදුන් අතර මහ පොළොවෙහි සිටින කෘමි සතුන් අල්ලා කෑමටද ඌව නිදහස් නොකළාය.}[5]

එසේම එතුමා පැවසූ ආකාරයට, මිනිසෙකු අධික පිපාසයෙන් පෙළෙන බල්ලෙකුට පානයට යමක් දුන් බැවින් එම සත් ක්‍රියාව හේතු කොටගෙන දෙවියන්වහන්සේ ඔහුගේ පව් වලට සමාව දෙන ලදි. එවිට, වක්තෘ මුහම්මද් තුමාගෙන් මෙසේ අසන ලදි. "දෙවියන්ගේ දූතයාණෙනි, සතුන්ට කරුණාව දැක්වීම සඳහා අපට යහඵල ලැබේද?" එවිට එතුමා, {සෑම සජීවී සත්වයෙකුටම හෝ මිනිසෙකුටම කරුණාව දැක්වීම වෙනුවෙන් තිළිණ පවතී}[6] යැයි පැවසූහ.

ඊට අමතරව ආහාරය සඳහා සතෙකු ජීවිතක්ෂයට පත් කිරීමේදී පවා මුස්ලිම්වරුන්ට අණකොට ඇත්තේ එය එම සතාට හැකිතාක් අවම බියක් හා අවම වේදනාවක් ඇතිවන ආකාරයකින් ඉටුකරන ලෙසයි. මුහම්මද් තුමා පැවසූ ආකාරයට {ඔබ සතෙකු මස් කරන විට එය හොඳම ආකාරයට ඉටු කරන්න. සතාගේ වේදනාව අවම කිරීම සඳහා ඔබගේ පිහිය හොඳින් මුවහත් කරගන්න.}[7]

මෙම ග්‍රන්ථයෙහි සේම අනෙකුත් සියළුම ඉස්ලාමීය ග්‍රන්ථ වලට අනුව අසරණ පොදු ජනයාගේ හදවත් තුළ ත්‍රස්තවාදී හැඟීම් ඇවිස්සීම, මහා පරිමාණ ලෙස ගොඩනැගිලි හා දේපළ වලට හානි කිරීම, බෝම්බ ප්‍රහාර එල්ල කරමින් අසරණ පිරිමින්, ගැහැණුන් හා ළමුන් අංග විකළ බවට පත් කිරීම යනාදිය ඉස්ලාමයෙහි හා මුස්ලිම්වරුන්ට තහනම් කරන ලද පිළිකුල් සහගත ක්‍රියාවන් වේ. මුස්ලිම්වරුන් සාමය, දයාව හා සමාව දීමේ ගුණයන්ගේ යුත් දහමක් අදහන අතරම සමහරුන් මුස්ලිම්වරුන් සමග ඈඳා කතා කරන ආකාරයේ කිසිඳු ප්‍රචණ්ඩ ක්‍රියාවක් සමග කිසිඳු සබඳතාවයක් අති බහුතර මුස්ලිම්වරුන්ගේ නොමැත. යම්කිසි මුස්ලිම්වරයෙකු තනිවම හෝ කිසිඳු ත්‍රස්ත ක්‍රියාවක නිරත වේ නම් එම පුද්ගලයා ඉස්ලාමීය නීතින් උල්ලංඝනය කිරීම පිළිබඳව වරදකරු බවට පත් වේ.

---

(1) සඳහන් වී ඇත්තේ අබූ දාවුද් # 2675
(2) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරි # 6871 සහ සහීහ් මුස්ලිම් #88
(3) මින් අදහස් වන්නේ මිනිමැරීම් සහ තුවාල සිදුකිරීමය.
(4) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 1678 සහ සහීහ් අල් බුහාරි #6533
(5) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 2422 සහ සහීහ් අල් බුහාරි #2365
(6) මෙම මුහම්මද් තුමාගේ කියමනෙහි විස්තර කිරීම පිටු අංක 50හි සඳහන් කොට ඇත. සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 2244 සහ සහීහ් අල් බුහාරි #2466
(7) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් # 1955 සහ අල් තිර්මිදී # 1409

## ඉස්ලාමයෙහි ඇති මානව හිමිකම් හා සාධාරණත්වය

ඉස්ලාමයෙහි මිනිසාට බොහෝ මානව හිමිකම් ප්‍රදානය කර ඇත. පහත දැක්වනුයේ එසේ ඉස්ලාමය තුළ ආරක්ෂා කෙරෙන මානව හිමිකම් කිහිපයකි.

ඉස්ලාමීය රාජ්‍යයක් තුළ සිටින සියළුම පුරවැසියන්ගේ ජීවිත හා දේපළ එම පුද්ගලයා මුස්ලිම්වුවත් නොවූවත් එය පාරිශුද්ධ ලෙස සැළකේ. ඉස්ලාමය කෙනෙකුගේ ගෞරවයද ආරක්ෂා කරයි. එබැවින්, ඉස්ලාමයෙහි අන් අයට අපහාස කිරීමටත් ඔවුන් විහිළුවට ලක් කිරීමටත් ඉඩකඩ නැත. මුහම්මද් ﷺ තුමාණන් පවසා ඇති ආකාරයට {ඇත්තෙන්ම, ඔබගේ රුධිරය ඔබගේ දේපළ හා ඔබගේ ගෞරවය නොකෙළෙසිය යුතුයි}[1]. ඉස්ලාමයෙහි ජාතිවාදයට ඉඩක් නොමැති අතර අල් කුර්ආනයෙහි පහත දැක්වෙන ආකාරයට මානව සමානාත්මතාවය පිළිබඳව ප්‍රකාශ කෙරේ.

> ﴿ ***මිනිසුනි ! නුඹව නිර්මාණය කර ඇත්තේ ස්ත්‍රීයකගෙන් හා පුරුෂයෙකුගෙනි. නුඹලා එකිනෙක දැනගනු පිණිස ජාතීන් හා ගෝත්‍රයින් කළෙමු. ඇත්තෙන්ම නුඹලාගෙන් ඉතා ගෞරවණීය තැනැත්තාවන්නේ ඉතා ශ්‍රද්ධාවන්ත තැනැත්තාය.[2] සත්‍යවශයෙන්ම දෙවියන්වහන්සේ සියල්ල දන්නේය.*** ﴾
> ***(අල් කුර්ආනය 49:13)***

යම්කිසි විශේෂිත පුද්ගලයෙකුට හෝ ජාතියකට ඔවුන්ගේ ධනය, බලය හෝ ජාතිය හේතු කොටගෙන පක්ෂපාති බව පෙන්වීම ඉස්ලාමය ප්‍රතික්ෂේප කරයි. දෙවියන්වහන්සේ මිනිසාව මවා ඇත්තේ සමානයන් ලෙසයි. ඔවුන් එකිනෙකාගෙන් වෙනස් විය යුත්තේ ඔවුන්ගේ දේව විශ්වාසය හා ධර්මිෂ්ඨභාවය අනුව පමණි. මුහම්මද් තුමාණන් පවසා ඇති ආකාරයට { අහෝ මිනිසුනි! ඔබගේ දෙවියන්වහන්සේ එක් අයෙකු වන අතරම ඔබගේ ආදි මුතුන්මිත්තාද (ආදම්) එක් අයෙකි. අරාබිවරයෙකු අරාබි නොවන්නෙකුට වඩා යහපත් නොවෙනවා සේම අරාබි නොවන්නෙකුත් අරාබිවරයෙකුට වඩා යහපත් නොවේ. එසේම රතු (රතු පැහැයට හුරු සමේ වර්ණයෙන් යුත් සුදු) පුද්ගලයෙකු කළු පුද්ගලයෙකුට වඩා යහපත් වන්නේද නැත. කළු පුද්ගලයෙකු රතු පුද්ගලයෙකුට වඩා යහපත් වන්නේද නැත.[3] යමෙක් අනෙකුට වඩා යහපත් වන්නේ ශ්‍රද්ධාවෙන් පමණි}.[4]

අද දින මනුෂ්‍යවර්ගයා මුහුණදෙන ප්‍රධාන ගැටළු වලින් එකකි ජාතිවාදය. දියුණුවූ ලෝකයට මිනිසෙකු සඳට යැවීමේ හැකියාව ඇතිමුත් මිනිසෙකු තම සගයාට වෛර කිරීමවත්, ඔවුනොවුන් කළකෝළහල කිරීමවත් නැවැත්වීමේ හැකියාව එයට නොමැත. මුහම්මද් තුමාණන්ගේ කාලයේ පටන්ම, ජාතිවාදය දුරලිය හැක්කේ කෙසේද යන්න පිළිබඳව පැහැදිලි උදාහරණයක් ඉස්ලාමයෙහි පෙන්වා දී තිබේ.

---

(1) සඳහන් වී ඇත්තේ සහීහ් අල් බුහාරි #1739 සහ මොස්නද් අහ්මඩ් #2037
(2) ධාර්මිෂ්ඨ පුද්ගලයෙකු යනු විශ්වාසවන්තයෙකු වන අතර ඔහු සියළුම ආකාරයේ පව් වලින් වැළකී සිටී, දෙවියන්වහන්සේ අපහට කිරීමට අණ කොට ඇති සියළුම යහපත් ක්‍රියාවන් සිදුකරයි. දෙවියන්වහන්සේට ආදරය හා බිය භක්තියක් දක්වයි.
(3) වක්තෘවරයාණන්ගේ මෙම ප්‍රකාශනයෙහි සඳහන්වන සියළුම වර්ණයන් උදාහරණයන්වේ. මෙහි අර්ථය වන්නේ යමෙකුගේ පැහැය, එය සුදු වුවත් කළු, රතු හෝ වෙනත් වර්ණයක් වුවත් ඉස්ලාමයෙහි කිසිදු අයෙකු අනෙකාට වඩා යහපත් වන්නේ නැත යන්නයි.
(4) සඳහන් වී ඇත්තේ මොස්නද් අහ්මඩ් #22978

මක්කාවට වාර්ෂිකව සිදුකරනු ලබන වන්දනා ගමන (හජ්) තුලින් සියළුම මාර්ගයන් හා ජාතීන් අතර සැබෑ ඉස්ලාමීය සහෝදරත්වය පෙන්නුම් කෙරෙයි. මෙහිදි ලොව පුරා වසන මිළියන දෙකක් පමණ වූ මුස්ලිම් ජනතාවක් වන්දනාව ඉටු කිරීම සඳහා මක්කාවට පැමිණෙති.

ඉස්ලාමය සාධාරණවූ ධර්මයකි. දෙවියන්වහන්සේ පවසන ආකාරයට :

> *﴿ සැබැවින්ම විශ්වාසය කාහට ලැබිය යුතුද ඔවුනට එය නැවත ලබාදෙන ලෙසත්, ජනයා අතර විනිෂ්චයන් දීමේදි යුක්ති සහගත විනිෂ්චයන් දෙන ලෙසත් දෙවියන්වහන්සේ අණකර සිටියි. ﴾*
> (අල් කුර්ආනය, 4 ඃ 58)

එසේම දෙවියන්වහන්සේ පවසන ආකාරයට :

> *﴿ .....සාධාරණව කටයුතු කරන්න. දෙවිය-න්වහන්සේ යුක්තිය ඉටුකරන්නන් ප්‍රිය කරයි. ﴾*
> (අල් කුර්ආනය 49:9)



දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට, අප වෛරකරන පුද්ගලයාට පවා අපි සාධාරණ හා යුක්ති සහගත විය යුතුයි.

> *﴿..... අන්අය සමග සතුරු වී සිටීම නුබලාව යුක්ති සහගත වීම වළක්වාලයි. යුක්තිය ඉටු කරනු! එය ධාර්මිෂ්ඨභාවයට ඉතා කිට්ටුය. ﴾*
> (අල් කුර්ආනය 5:8)

මුහම්මද් ﷺ තුමාණන් පවසා ඇති ආකාරයට : (මිනිසුනි, අයුක්තියෙන් ප්‍රවේසම් වන්න[1]. මක්නිසාද යත්, විනිශ්චය දිනයේදී අයුක්තිය අඳුරු නිසාය)[2]

මෙලොව ජීවිතයේදි තම අයිතීන් (ඔවුන් සාධාරණ ලෙස ඉල්ලන දේ) නොලද පුද්ගලයන්ට මුහම්මද් ﷺ තුමාණන් පවසා ඇති ආකාරයට විනිශ්චය දිනයේදී ඒවා ලැබෙනු ඇත. {විනිශ්චය දිනයේදි ලැබිය යුතු පුද්ගලයන්ට ඔවුනගේ අයිතීන් ලබා දෙනු ඇත. (එසේම වැරදි නිවැරදි කර සහනය ලබාදෙනු ඇත.......}[3]

---

(1) අනුන්ට හිංසා කිරීම, අසාධාරණ ලෙස හැසිරීම හෝ අන්අයට අයහපත් දේ කිරීම.
(2) සඳහන් වී ඇත්තේ මුස්නද් අහ්මද් #5798 සහ සහීහ් අල් බුහාරි #2447
(3) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් #2582 සහ මුස්නද් අහ්මද් #7163

## ඉස්ලාමයෙහි කාන්තාවන්ගේ තත්වය කුමක්ද?



ඉස්ලාමීය කාන්තාවක් විවාහවී සිටියත්, අවිවාහක වුවත්, ඇයට ඉස්ලාම් ධර්මයට අනුව තමාගේ දේපළ වලට හිමිකරුවා වීමෙත්, තම දේපළ හා ඉපැයීම් පිළිබඳව කිසිම කෙනෙකුගේ (එය ඇගේ පියා, ස්වාමි පුරුෂයා හෝ අනෙකෙකු විය හැක) බලපෑමක් නොමැතිව තම අභිමතයට අනුව ඒ පිළිබඳව ක්‍රියා කිරීමේ අයිතියත්, ඇයට මිළදී ගැනීමේත්, විකිණීමේත් අයිතියද, පුණ්‍යාධාර ලෙස ත්‍යාගයන් දීමේ අයිතියද ඇති අතර ඇයට කැමති ආකාරයට ඇගේ ධනය වියදම් කිරීමටද ඇයට හැක. විවාහයකදී මනාලයා විසින් මනාලියට දෙනු ලබන දෑවැද්ද (මහර්) ඇයගේ පෞද්ගලික භාවිතය සඳහාම වන අතර, ඇයට ඇයගේ සැමියාගේ වාසගම වෙනුවට තම පරම්පරාගත නාමයම තව දුරටත් පවත්වා ගත හැක.

මුහම්මද් ﷺ තුමා පවසා ඇති ආකාරයට ඉස්ලාමයෙහි සැමියාට තම බිරිඳට ඉතා හොඳින් සැලකීමට අනුබල දෙයි. {ඔබලාගෙන් උසස්ම වන්නේ තම බිරිඳට වඩාත්ම යහපත් වන්නාය}[1]

ඉස්ලාමයෙහි මව්වරුන් අධික ගෞරවයට පාත්‍ර වෙති. ඉස්ලාමය ඔවුනට වඩාත්ම හොඳ ආකාරයට සැලකීමට නිර්දේශ කරයි. වරක් මිනිසෙකු වක්තෘ මුහම්මද් ﷺ තුමා වෙත පැමිණ "දෙවියන්වහන්සේගේ පණිවිඩකරුවාණෙනි! මාගේ ඇසුරට සුදුසු වඩාත්ම වටිනා පුද්ගලයා කවුරුන්ද? යැයි ඇසීය. එවිට වක්තෘතුමාණන් {ඔබගේ මව} යැයි පිළිතුරු දුන්නේය. පසුව ඔහු ඊලඟට කවුරුන්ද? යැයි ඇසුවේය. එවිට මුහම්මද් තුමා {ඔබගේ මව} යැයි පිළිතුරු දුන්නේය. ඔහු තෙවන වරටත් එම ප්‍රශ්නයම ඇසීය. එවිටද ඔහුට ලැබුණේ එම පිළිතුර මය. ඔහු නැවත වරක් එයම ඇසීය. එවිට මුහම්මද් තුමා {ඔබගේ පියා}[2] යැයි පිළිතුරු දුන්නේය."

(ඉස්ලාමීය කාන්තාව පිළිබදව තොරතුරු සදහා www.islam-guide.com/women යන වෙබ් අඩවියට පිවිසෙන්න)

## ඉස්ලාමය තුළ පවුල

ශිෂ්ඨාචාරයක මූලික ඒකකය වන පවුල වර්තමානයේදි කැඩී බිඳී ගොස් ඇත. ඉස්ලාමීය පවුල් සංස්ථාව සැමියාගෙත් බිරිඳගේත්, දරුවන්ගේ හා නෑදෑයන්ගේත්, අයිතීන් මනාව සමතුලිත කරයි. ඉස්ලාමය මඟින්, මනා ලෙස ස්ථාපිත වූ පවුල් සංස්ථාවක් තුළ ආත්මාර්ථකාමීත්වයෙන් තොර හැසිරීම, ත්‍යාගශීලි බව හා ආදරය රෝපණය කරයි. ස්ථායි පවුල් ඒකකයක් මඟින් ඇති කරන සාමය හා ආරක්ෂිතභාවය ඉතාමත් ඇගයිය යුතු අතරම එය එම පවුලේ සාමාජිකයන්ගේ ආධ්‍යාත්මික වර්ධනය අත්‍යාවශ්‍ය ලෙසද සැළකිය හැක. වැඩිදියුණු වූ පවුල් සංස්ථාවන් වල පැවැත්ම හා ළමුන්ව අගය කිරීම තුළින් එකමුතු කමින් පිරි සමාජ ක්‍රමයක් ඇතිවෙයි.

---

(1) සඳහන් වී ඇත්තේ ඉබ්න් මාජාහ් #1978 සහ අල් තිර්මිදී #3895

(2) සඳහන් වී ඇත්තේ සහීහ් මුස්ලිම් #2548 සහ සහීහ් අල් බුහාරි #2447

## මුස්ලිම්වරුන් වැඩිහිටියන්ට සළකන්නේ කෙසේද?

ඉස්ලාමීය ලෝකය තුළ "වැඩිහිටි නිවාස" දැකගැනීම ඉතාමත් අසීරුය. මෙහිදී, තම දෙමාපියන්ගේ ජීවිත වල ඉතාමත්ම දුෂ්කර අවධිය වන වැඩිමහල් අවධියේදී ඔවුන්ව රැක බලාගැනීම ගෞරවයක් ලෙස සැලකෙන අතර එය ආශිර්වාදයක්ද, විශිෂ්ඨ ආධ්‍යාත්මික වර්ධනයක් ඇති කර ගැනිමේ අවස්ථාවක් ලෙසද සැලකේ. ඉස්ලාමයෙහි අප අපගේ දෙමාපියන් වෙනුවෙන් ප්‍රාර්ථනා කිරීම පමණක් නොසෑහේ. නමුත් අප කිසිඳු හැකියාවක් නොමැති කුඩා දරුවන්ව සිටියදී ඔවුන් ඔවුන්ටත් වඩා අප කෙරෙහි ආදරය දැක්වූවාසේ අපිද ඔවුන් කෙරෙහි සීමා රහිත වූ ආදරයකින් ක්‍රියා කළ යුතුය. මව්වරුන්ට විශේෂිත වූ ගෞරවයක් හිමිවෙයි. මුස්ලිම් දෙමාපියන් වියපත් වන විට ඔවුන් දයාව, කරුණාව හා ආත්මාර්ථකාමී බවින් තොරව සැළකීමකට බඳුන් වෙති.

ඉස්ලාමයෙහි යමෙකුට තම දෙමාපියන් රැක බලාගැනීම දේව නැමදීමට පසුව ඇති (දෙවන) වගකීම වන අතරම, දෙමාපියන් එය බලාපොරොත්තු වීම ඔවුන් සතු අයිතියකි. කෙනෙකු වයෝවෘධභාවයට පත්ව දුබල තත්වයට පත්වන්නේ කිසිඳු වරදක් හේතු කොටගෙන නොවේ. එවිට, ඔවුන්ට තම නොරිස්සීම පෙන්වීම පිළිකුල් සහගත ක්‍රියාවක් ලෙස ඉස්ලාමය සලකනු ලැබේ. දෙවියන්වහන්සේ පවසා ඇති ආකාරයට :

> *﴾ දෙවියන්වහන්සේ හැර වෙනත් කිසිවක් වන්දනාමාන නොකරනු. තවද දෙමා-පියන්ට දයාබර වනු. ඔවුන් දෙදෙනාගෙන් කෙනෙකු හෝ දෙදෙනාම නුඹ ළඟ මහළු වියට පත්වූවහොත් ඔවුන් දෙදෙනාට ඡී යනුවෙන් නොකියනු. ඔවුනට බැන නොවදිනු. ඔවුන් දෙදෙනාට ගෞරව වචනයෙන් ආමන්ත්‍රණය කරනුයි, නුඹලාගේ පරිමාධිපති නුඹට නියෝග කරයි. තවද ඔවුන් දෙදෙනාට දයාළුභාවයෙන් නිහතමානීව සලකනු. තවද මාගේ පරිමාධිපතියාණෙනි! ඔවුන් දෙදෙනා මා බාල වියේ ආදරයෙන් රැක බලාගත්හ, ඔවුන් දෙදෙනාට දයාන්විත වනු මැනවයි ලෙසින් ප්‍රාර්ථනා කරනු. ﴿*
> (අල් කුර්ආනය 17:23-24)

## ඉස්ලාමයෙහි 'කුළුණු පහ' මොනවාද?

මුස්ලිම්වරයෙකුගේ ජීවිතයෙහි සැකිල්ල වනුයේ ඉස්ලාමයෙහි කුළුණු පහයි. ඒවා නම්, දේව විශ්වාසය පිළිබඳව සාක්ෂිය, නැමදීම, සකාත් දීම (දුගීන්ට උපකාර කිරීම) රමළාන් මාසයෙහි උපවාසයේ යෙදීම, හැකියාව ඇති පුද්ගලයන් ඔවුන්ගේ ජීවිත කාලය තුළ එක් වතාවක් හෝ මක්කාවට වන්දනා ගමනක යෙදීම යනාදියයි.

### (1) දේව විශ්වාසය පිළිබඳව සාක්ෂිය.

ලා ඉලාහ ඉල්ලල්ලාහ් මුහම්මදුර් රසූලුල්ලාහ්' යනුවෙන් ස්ථිර විශ්වාසයකින් යුතුව පැවසිම, දේව විශ්වාසය පිළිබඳව සාක්ෂියයි. මෙම ප්‍රකාශයෙහි අදහස වනුයේ "දෙවියන්වහන්සේ (අල්ලාහ්)[1] හැර වෙනත් සත්‍යවූ දෙවිකෙනෙකු නොමැත. මුහම්මද් යනු දෙවියන්වහන්සේගේ දූතයාය (වක්තෘවරයාය)" යන්නයි.

---

(1) අල්ලාහ් නම් වචනයෙහි වැඩි විස්තර සඳහා පිටු අංක 47 බලන්න.

මෙහි පළමු කොටස වන "දෙවියන්වහන්සේ හැර වෙනත් සත්‍යවූ දෙවිකෙනෙකු නොමැත" යන්නෙහි අර්ථය වන්නේ දෙවියන්වහන්සේට හැර අන් කිසිඳු අයෙකුට වැඳුම් ලැබීමට හිමිකමක් නොමැති බවත්, දෙවියන්වහන්සේට හවුල්රුවෙකු හෝ දරුවෙකු නොමැති බවත්ය. සත්‍යය පිළිබඳව වූ මෙම සාක්ෂිය 'ෂහාදා' ලෙස හැඳින්වෙන අතර එය යමෙකු ඉස්ලාමය වැළඳ ගැනිම සඳහා මනා අවබෝධයකින් හා විශ්වාසයකින් යුතුව පැවසිය යුතු සරළ ප්‍රකාශයකි. විශ්වාසය පිළිබඳව සාක්ෂිය ඉස්ලාමයෙහි වැදගත්ම කුළුණ වෙයි.

## (2) නැමදීම

මුස්ලිම්වරුන් දිනපතා පස්වරක් දේව නැමදීමෙහි යෙදෙති. එක් එක් නැමදීම සදහා ගතවන්නේ විනාඩි කිහිපයක් තරම් වූ සුළු කාලයක් පමණි. ඉස්ලාමයෙහි නැමදීම යනු දෙවියන්වහන්සේ හා නැමදීම සිදුකරන්නා අතර ඇති සෘජු සම්බන්ධතාවයයි. දෙවියන්වහන්සේ හා නැමදීම සිදුකරන්නා අතර කිසිඳු අතරමැදියෙකු නැත.

නැමදීමේදී, නැමදීම සිදුකරන්නා තුළ අභ්‍යන්තර සංතෘෂ්ටිය, සාමය හා සැනසීම ඇතිවන අතරම දෙවියන්වහන්සේ ඔහු හෝ ඇය පිළිබදව සතුටට පත්වේ. මුහම්මද් තුමාණන් පැවසූ ආකාරයට {බිලාල් නැමදිම ඉටුකිරීමට (මිනිසුන්) අමතන්න, ඒ මඟින් අපහට සැනසීම ඇති කරගැනීමට ඉඩ සළසන්න}[1] බිලාල්, මුහම්මද් තුමාණන්ගේ අනුගාමිකයෙකු වූ අතර ඔහු මිනිසුන්ව නැමදීම සඳහා කැඳවීමේ වගකීම භාරව සිටියේය.

නැමදීම ඉටුකරනුයේ අළුයම, මධ්‍යහ්නය, මධ්‍යම සවස්භාගය, හිරු බැසීම හා රාත්‍රිය යන වේලාවන්හිදිය. මුස්ලිම්වරයෙකුට තම ක්ෂේත්‍රයෙහි, කාර්යාලයෙහි කර්මාන්ත ශාලාවල හෝ විශ්ව විද්‍යාල වැනි ඕනෑම ස්ථානයක නැමදිම සිදුකල හැක.[2]

(ඉස්ලාමයේ දේව නැමදුම පිළිබදව තොරතුරු සදහා www.islam-guide.com/women යන වෙබ් අඩවියට පිවිසෙන්න)

## (3) සකාත් දීම (දිළින්දන්ට උපකාර කිරීම )

සියළුම දෑ දෙවියන්වහන්සේටම අයත්වන අතර ධනය මිනිසා විසින් පාලනය කරනු ලැබේ. සකාත් යන වචනයෙහි සැබෑ අර්ථයන් දෙක වන්නේ, 'පිරිසිදු කිරීම' හා 'වර්ධනය' යන්නයි. සකාත් දිම යනු "සමහර වස්තූන්ගෙන් එක්තරා නියමිත වූ ප්‍රතිශතයක් යම්කිසි පන්තිවලට අයත් වන දිළිඳු ජනයාට දිමයි". රත්තරන්, රිදී හා මුදල් යනාදිය රත්තරන් ග්‍රෑම් 85 ක වටිනාකම දරයි නම් හා එය එක් චන්ද්‍ර වර්ෂයක් පුරා තමාට අයත්ව තිබුණි නම් ඊට අදාළ සකාත් ප්‍රතිශතය වන්නේ සියයට දෙකහමාරකි. ශාක කප්පාදු කිරීම මඟින් එම ශාකය සමතුළිත වීම හා නව වර්ධනයෙහි වැඩිදියුණු කිරීමක් සිදුවනවා සේම, දිළින්දන්ට අප සතු දැයින් එක්තරා කුඩා කොටසක් වෙන් කිරීම මඟින් අප සතු දේවල් පවිත්‍රත්වයට පත්වෙයි.

යමෙකුට ඔහු හෝ ඇය කැමති ඕනෑම ප්‍රමාණයක් තම කැමැත්තෙන්ම දන් දීම හෝ පුන්‍ය කටයුතු සඳහා ප්‍රදානය කිරීමටද හැක.

---

(1) සඳහන් වී ඇත්තේ අබූ දාවුද් #4985 සහ මුස්නද් අහ්මද් #22578

(2)දේවනැමදීම පිළිබඳව වැඩි විස්තර සදහා කරුණාකර එම්.ඒ.කේ. සාබිබ් මහතාගේ A guide to prayer in Islam නම් ග්‍රන්ථය බලන්න. එහි පිටපතක් සදහා කරුණාකර ඉහත සදහන් වෙබ් අඩවියට පිවිසෙන්න.

## (4) රමළාන් මාසයෙහි උපවාසයේ යෙදීම.

සෑම වසරකම රමළාන් මාසයේ[1] අළුයම සිට හිරු බසින තෙක් සියළුම මුස්ලිම්වරුන් ආහාර, පාන හා ලිංගික සම්බන්ධතාවයන්ගෙන් වැළකී උපවාසයෙහි යෙදෙති.

උපවාසය සෞඛ්‍යයට හිතකර වුවත් එය මූලික වශයෙන් සළකනු ලබන්නේ ආධ්‍යාත්මික ස්වයං පාරිශුද්ධියක් ඇති කරගන්නා ක්‍රමයක් ලෙසිනි. යමෙකුගේ ලෞකික සැප පහසුකම් කෙටි කළකට හෝ ඉවත් කළ විට එම උපවාසයේ යෙදෙන්නාහට කුසගින්නෙන් පෙළෙන්නන් පිළිබඳව සැබෑ අනුකම්පාවක් ඇති වන අතරම ඔහුගේ හෝ ඇයගේ ආධ්‍යාත්මික දිවියේ වර්ධනයක්ද මේ මඟින් සිදු කෙරෙයි.

## (5) මක්කාවට වන්දනා ගමනක නිරත වීම.

ශාරීරිකව හා ආර්ථිකව හැකියාවන් සහිත පුද්ගලයන්ට තම ජීවිත කාලය තුළදී එක් වතාවක් වාර්ෂිකව මක්කාවට සිදු කරන වන්දනා ගමනක (හජ්) සදහා සහභාගි වීම අනිවාර්ය්‍ය යුතුකමක් වෙයි. ලෝකයේ සෑම කොනකම සිට සෑම වසරකදීම මිළියන දෙක ඉක්ම වූ ජනකායක් මක්කාවට පැමිණෙති.



මක්කාව නිරතුරුවම වන්දනාකරුවන්ගෙන් පිරී පැවතුනත් වාර්ෂිකව හජ් වන්දනාව සිදු කරනු ලබන්නේ ඉස්ලාමීය කැලැන්ඩරයේ දොළස්වන මාසයේදීය. පිරිමි වන්දනාකරුවන් විශේෂිත වූ සරළ ඇඳුම් අඳින අතර ඒ මඟින් විවිධ පන්තීන් හා සංස්කෘතීන් අතර වෙනස නැතිකරමින් දෙවියන්වහන්සේ ඉදිරියේ සියල්ලන්ම සමාන වන බව පෙන්වයි.

හජ් හි චාරිත්‍ර අතරට සත් වරක් කඃබාව පැදකුණු කිරීම, සෆා හා මර්වා නම් කඳුගැට දෙක අතර හාගර් ජලය සෙවීම සිදුකළාක් මෙන් සත් වරක් ගමන් කිරීම යනාදිය ඇතුළත් වෙයි. ඉන්පසුව වන්දනාකරුවන්, විනිශ්චය දිනයේදී පූර්ව දර්ශනයක් ලෙස සලකනු ලබන අරෆාවෙහි[2] එකට රැස්වන අතර මෙහිදී ඔවුන් දෙවියන්වහන්සේගෙන් තම තමන් අපේක්ෂා කරන සියළු දෑ ඉල්ලන අතර දෙවියන්වහන්සේගෙන් සමාවද යදිති.

හජ්හි අවසානය සංකේත වන්නේ ඊදුල්-අළ්හා නම් වූ උත්සවයකිනි. එය දේව යාඥාවන් සමග සමරනු ලැබේ. මෙම උත්සවයත් රමළාන් මාසය අවසානයේදී සමරනු ලබන ඊදුල්-ෆිත්ර් නම් වූ උත්සව දිනයත් මුස්ලිම් දින දර්ශනයේ ඇති වාර්ෂික උත්සවයන් දෙක වේ.

---

(1) රාමළාන් මාසය යනු ඉස්ලාමීය දින දර්ශනයේ නව වන මාසයයි. (එය චන්ද්‍ර මාසය වන අතර සූර්ය මාසය වේ.)

(2) මක්කාවේ සිට සැතපුම් 15 ක දුරින් වූ ප්‍රදේශයකි.

## එක්සත් ජනපදයේ ඉස්ලාමය

ඇමරිකානු මුස්ලිම්වරුන් පිළිබඳව පොදු අවබෝධයක් ලබා ගැනීම මඳක් දුෂ්කරය. එනම්, ඔවුන් අතර ඉස්ලාමය අළුතින් වැළඳගත් අයත්, සංක්‍රමණිකයන්, කර්මාන්ත ශාලා සේවකයන් හා වෛද්‍යවරුන් වැනි විවිධාකාරයේ අය සිටිති. මෙම එකිනෙකට වෙනස් වූ සමාජය පොදු දේව විශ්වාසයකින් එක්සත් කෙරෙන අතර ජාතික වශයෙන් මෙය මස්ජිදයන් (පල්ලි) විශාල ගණනකින් සමන්විත ජාලයකින් දරා සිටී.

අතීතයේදිම මුස්ලිම්වරුන් උතුරු ඇමරිකාවට පැමිණියහ. දහ අටවන ශතවර්ෂය පමණ වන විට උතුරු ඇමරිකාවේ බොහෝ මුස්ලිම්වරුන් සිටිහ.

ඇමරිකානුවන් විශාල සංඛ්‍යාවක් ඉස්ලාමය වෙත පිවිසී ඇත. ඔවුන් දුප්පත් පොහොසත් උගත් හා නුගත් වැනි විවිධ වූ පන්ති වලට අයත් වූවන් වේ. අද දින එක්සත් ජනපදයේ මිළියන පහමාරක් පමණවූ මුස්ලිම් ජනකායක් සිටිති.[2]

## ඉස්ලාමය පිළිබඳව වැඩිදුර විස්තර සඳහා

ඔබ ඉස්ලාමය පිළිබඳව වැඩිදුර විස්තර ලබා ගැනීමට කැමති නම් හෝ ඒ පිළිබඳව කිසියම් ගැටළුවක් හෝ විවේචන තිබේනම් හෝ ඔබට මෙම ග්‍රන්ථයේ ඉංග්‍රීසි පිටපත් ලබා ගැනිමට අවශ්‍ය නම් කරුණාකර මෙම ග්‍රන්ථයෙහි වෙබ් පිටුව වන http:www.islam-brief-guide.org පිවිසෙන්න. නැතහොත් පහත සඳහන් ආයතන සමග සම්බන්ද වන්න. සිංහල පිටපත් ලබා ගැනිමට අවශ්‍ය නම් ezahidh@yahoo.com හෝ ezakiyah@gmail.com සම්බන්ද කරගන්න.

(1) ඇමරිකා එක්සත් ජනපදය

Islamic Assembly of North America
3588 Plymouth Road, Suite # 270, Ann Arbor, MI 48105, USA
Tel.: (734) 528-0006 - Fax: (734) 528-0066
E-mail: IANA@IANAnet.org

Islamic Foundation of America
PO Box: 3415, Merrifield, VA 22116, USA
Tel.: (703) 914-4982 - Fax: (703) 914-4984
E-mail: info@ifa.ws

Alharamain Islamic Foundation
1257 Siskiyou Blvd., no. 212, Ashland, OR 97520, USA
Tel.: (541) 482-1116 - Fax: (541) 482-1117
E-mail: haramain@alharamain.org

Islamic Information Institute of Dar-us-Salam
5301 Edgewood Rd., College Park, MD 20740-4623, USA
Tel.: (301) 982-9463 - Fax: (301) 982-9849
E-mail: iiid@islamworld.net

World Assembly of Muslim Youth
PO Box: 8096, Falls Church, VA 22041-8096, USA
Tel.: (703) 820-6656 - Fax: (703) 783-8409
E-mail: support@wamyusa.org

(2) කැනඩාව

Islamic Information and Da'wah Center International
1168 Bloor Street West, Toronto, Ontario M6H 1N1, Canada
Tel.: (416) 536-8433 - Fax: (416) 536-0417
E-mail: comments@islaminfo.com

(3) එක්සත් රාජධානිය

Al-Muntada Al-Islami Centre
7 Bridges Place, Parsons Green, London SW6 4HW, UK
Tel.: 44 (0207) 736 9060 - Fax: 44 (0207) 736 4255
E-mail: muntada@almuntada-alislami.org

Jam'iat Ihyaa' Minhaaj Al-Sunnah
PO Box: 24, Ipswich, Suffolk IP3 8ED, UK
Tel. and Fax: 44 (01473) 251578
E-mail: mail@jimas.org

(4) සවුදි අරාබිය

Alharamain Islamic Foundation
PO Box: 69606, Riyadh 11557, Saudi Arabia
Tel.: (966-1) 465-2210 - Fax: (966-1) 462-3306
E-mail: haramain@alharamain.org

World Assembly of Muslim Youth
PO Box: 10845, Riyadh 11443, Saudi Arabia
Tel.: (966-1) 464-1669 - Fax: (966-1) 464-1710
E-mail: info@wamy.org

(5) ශ්‍රී ලංකාව

Center for Islamic Studies
No 15A, Rohini Street, Wellawatta, Colombo 06
Tel: (0094) 11 2586660

## හදීස්වල අංකනය:

මෙම ග්‍රන්ථයෙහි ඇති හදීස්වල[1] වල අංකනය පහත විස්තර මත පදනම් වෙයි.

- සහිහ් මුස්ලිම් : මුහම්මද් එෆ් අබ්දුල් - බාකිගේ අංකනය කිරීම් අනුවයි.
- සහිහ් අල් බුහාරි : ෆත් අල් බාරි ගේ අංකනය අනුවයි.
- අල් - තිර්මිදි : අහ්මද් ෂාකර් ගේ අංකනය කිරීම් අනුවයි.
- මුස්නද් අහමද් : බීරුට් හි දර් එහ්යා අල් තෝරත් අල් අරාබි ගේ අංකනය කිරීම් අනුවයි.
- මුවත්තා මාලික් : මුවත්තා මාලික් ගේ අංකනය කිරීම් අනුවයි.
- අබු - දාවුද් : මොහොමඩ් මුහ්යි අල් - දින් අබ්දුල් හමිද්ගේ අංකනය කිරීම් අනුවයි.
- ඉබ්න් මාජාහ් : මුහම්මද් එෆ්. අබ්දුල් බාකිගේ අංකනය කිරීම් අනුවයි.
- අල් දාරිමි : කාලිද් අල් - සබා අල් - අලමි සහ ෆව්වාස් අහමඩ් සමර්ලිගේ අංකනය කිරීම් අනුවයි.

(1) හදීසයක් යනු මුහම්මද් තුමාණන්ගේ අනුගාමිකයන් එතුමාණන් ප්‍රකාශ කළ දෑ, සිදු කළ දෑ හා අනුමත කළ දෑ පිළිබඳව ඉතා විශ්වාස කටයුතු ආකාරයට ලබාදුන් තොරතුරුය.

